# ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රය


අංක 2,052 - 2017 දෙසැම්බර් මස 29 වැනි සිකුරාදා - 2017.12.29

(රජයේ බලයපිට ප්‍රසිද්ධ කරන ලදී)


## I වැනි කොටස : I වැනි ඡෙදය - සාමාන්‍ය

(වෙන වෙනම ගොනු කර ගත හැකි පරිදි සෑම කොටසකට ම අයත් එක් එක් භාෂාවකට වෙන වෙනම පිටු අංක යොදා ඇත)



**සතිපතා නිකුත් වන ගැසට් පත්‍රයෙහි පළකිරීම සඳහා භාරගනු ලබන දැන්වීම් පිළිබඳ**

### වැදගත් නිවේදනයයි

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ *ගැසට් පත්‍රයේ* අවසන් පිටුවේ සෑම මාසයක ම මුල් සතියේ දී පළකරන නිවේදන භාරගන්නා දිනයන් සහ වේලාවන් පිළිබඳව මින් අවධානය යොමු කරනු ලැබේ.

*ගැසට් පත්‍රයේ* පළකිරීම සඳහා දැන්වීම් භාරගැනීම ගැසට් පත්‍රය පළකරනු ලබන දිනයට සති දෙකකට පෙර සිකුරාදා දිනයෙහි දහවල් 12.00 ට අවසන් කරනු ලැබේ. තනතුරු - ඇබෑර්තු, විභාග, ටෙන්ඩර් සහ වෙන්දේසි පිළිබඳ දැන්වීම්වල අවසන් දින සහ වේලාවන් ඒ පිළිබඳව උනන්දුවක් දක්වන අයට ප්‍රමාණවත් කාල වේලාවක් ලැබෙන පරිදි යොදාගත යුතු බවට, සියලු ම දෙපාර්තමේන්තු, සංස්ථා සහ මණ්ඩල යනාදිය වගබලාගත යුතු බව මින් අවධාරණය කෙරේ. පළකිරීම සඳහා එවනු ලබන සෑම දැන්වීමක් ම තනි පැත්තේ පමණක් පැහැදිලිව පිටපත් කළ යුතු ය. **නිරවද්‍යතාවය පිළිබඳව කරන විමසීම් සහ පැමිණිලි** *ගැසට් පත්‍රය* **පළ වූ දින සිට තෙමසකට පසුව භාරගනු නොලැබේ.**

*ගැසට් පත්‍රයේ* පළකරන සෑම දැන්වීමක් ම *ගැසට් පත්‍රය* පළ කරනු ලබන දිනට සති දෙකකට පෙර එනම්, 2018 ජනවාරි මස 19 වැනි දින පළ කෙරෙන *ගැසට් පත්‍රයේ* දැන්වීම් 2018 ජනවාරි මස 05 වැනි දින දහවල් 12.00ට හෝ ඊට පෙර තැපෑලෙන් හෝ ගෙනවිත් රජයේ මුද්‍රණාලයට භාරදිය යුතු ය.

**2006 අංක 19 දරන ඉලෙක්ට්‍රොනික ගණුදෙනු පනත - 9 වැනි වගන්තිය**

*"යම් ප්‍රකාශනයක්, රීතියක්, නියෝගයක්, නියමයක්, අතුරු ව්‍යවස්ථාවක්, නිවේදනයක් හෝ වෙනත් කිසිවක් ගැසට් පත්‍රයේ පළ කළ යුතු බවට යම් පනතකින් හෝ නීති ප්‍රඥප්තියකින් විධිවිධාන සලස්වා ඇති අවස්ථාවක, ඒ රීතිය, නියෝගය, නියමය, අතුරු ව්‍යවස්ථාව, නිවේදනය හෝ වෙනත් දෙය ඉලෙක්ට්‍රොනික ස්වරූපයේ වන ගැසට් පත්‍රයක පළකරනු ලැබුවහොත් ඒ විධිවිධානය සම්පූර්ණ කර ඇත්තාක් සේ සැලකිය යුතු ය."*

**ගංගානි ලියනගේ,**
රජයේ මුද්‍රණාලයාධිපති. (වැ. බ.).

2017 ජනවාරි මස 01 වැනි දින,
කොළඹ 08,
රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ දී ය.

*මෙම ගැසට් පත්‍රය www. documents. gov.lk වෙබ් අඩවියෙන් බාගත කළ හැක.*

1885 – B 081238 — 403 (2017/12)
A 1-

# ජනාධිපතිතුමාණන් විසින් කරන ලද පත්කිරීම් ආදිය

2017 අංක 1547

MOD/DEF/2/01/ARF/RET/1446.

**ශ්‍රී ලංකා යුද්ධ හමුදාව - ස්ථිර බල හමුදව**

අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කරන ලද නිල උසස් කිරීමක්, විශ්‍රාම ගැනීමක් සහ නිත්‍ය (පොදු) උපසේවයට මාරු කිරීමක්

**නිල ස්ථිර කිරීමක්**

පහත නම සඳහන් ජ්‍යෙෂ්ඨ නිලධාරි 2017 ජුනි මස 23 වැනි දින සිට මේජර් ජෙනරාල් නිලයේ ස්ථිර කිරීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

තාවකාලික මේජර් ජෙනරාල් රංජිත් ප්‍රේමකුමාර රාජපතිරණ, ආර්එස්පී, යූඑස්පී, පීඑස්සී (නි/60475)

**විශ්‍රාම ගැනීමක්**

පහත නම සඳහන් ජ්‍යෙෂ්ඨ නිලධාරි 2017 ජුනි මස 24 වැනි දින සිට ශ්‍රී ලංකා යුද්ධ හමුදවේ ස්ථිර බල හමුදවෙන් විශ්‍රාම ගැනීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

මේජර් ජෙනරාල් රංජිත් ප්‍රේමකුමාර රාජපතිරණ, ආර්එස්පී, යූඑස්පී, පීඑස්සී (නි/60475)

**නිත්‍ය (පොදු) උපසේවයට මාරු කිරීමක්**

පහත නම සඳහන් ජ්‍යෙෂ්ඨ නිලධාරි 2017 ජුනි මස 24 වැනි දින සිට ශ්‍රී ලංකා යුද්ධ හමුදවේ නිත්‍ය (පොදු) උපසේවයට මාරු කිරීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

මේජර් ජෙනරාල් රංජිත් ප්‍රේමකුමාර රාජපතිරණ, ආර්එස්පී, යූඑස්පී, පීඑස්සී (නි/60475)

අතිගරු ජනාධිපති උතුමාණන්ගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 13 වැනි දින,
කොළඹ දී ය.

12 - 1066

2017 අංක 1548

MOD/DEF/2/01/ARF/CONF/BRIG/15.

**ශ්‍රී ලංකා යුද්ධ හමුදාව - ස්ථිර බල හමුදව**

අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කරන ලද නිල ස්ථිර කිරීම්

**නිල ස්ථිර කිරීම්**

පහත නම් සඳහන් ජ්‍යෙෂ්ඨ නිලධාරීන් ඉදිරියෙන් දක්වා ඇති දින සිට බ්‍රිගේඩියර් නිලයේ නිල ස්ථිර කිරීම් අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

*(අ) 2013 අගෝස්තු මස 5 වැනි දින සිට :*

කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) මොහොමඩ් හුසේන් ෆාරීෂ් යුසුෆ්, යූඑස්පී, එල්එස්සී (නි/60365)

*(ආ) 2013 ඔක්තෝබර් මස 1 වැනි දින සිට :*

(1) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) කොඩිතුවක්කු ආරච්චිගේ චන්න හේමන්ත කොඩිතුවක්කු, අයිජී (නි/60581)
(2) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) මීගමුව තිලක් වෛද්‍යරත්න (නි/60472)

*(ඇ) 2013 නොවැම්බර් මස 1 වැනි දින සිට :*

(1) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) දියලගොඩ පතිරන්නැහැලාගේ මෙත්සිරි තිලක් උභයවර්ධන (නි/60590)
(2) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) කුමාරප්පෙරුම ආරච්චිගේ වසන්ත කුමාරප්පෙරුම (නි/60610)

*(ඈ) 2014 ජනවාරි මස 16 වැනි දින සිට :*

(1) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) හිමාල් ලසන්ත ගුරුගේ, ඒඒට්ඕ (නි/60493)
(2) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) ප්‍රසන්න අජිත් කලුආරච්චි (නි/60502)

*(ඉ) 2014 ජනවාරි මස 17 වැනි දින සිට :*

(1) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) චන්දන කුමාර හඳුන්මුල්ල (නි/60563)
(2) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) අජිත් ධනපාල ඇල්වත්ත (නි/60570)

*(ඊ) 2014 මාර්තු මස 17 වැනි දින සිට :*

(1) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) ගම්පොලගේ සමන් මහීන් ෆොන්සේකා (නි/60814)
(2) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) අමින්ද කොණ්ඩ ආරච්චිගේ බුවනෙක ගුණරත්න (නි/60635)
(3) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) ලෙස්ලි විජේසුන්දර, ආර්එස්පී (නි/60640)
(4) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) රන්මුතුගේ ලක්ෂ්මන් චන්ද්‍රසිරි ප්‍රනාන්දු, ඒඩීසී (නි/60644)

*(උ) 2014 ජුනි මස 2 වැනි දින සිට :*

(1) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) හේරත් රාලලාගේගෙදර විජේරත්න බණ්ඩාර (නි/60988)
(2) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) වංශපුර ආරච්චිගේ ආරියරත්න, ආර්ඩබ්පී, ආර්එස්පී (නි/60725)
(3) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) ඇලුම්බේ ගෙදර ධම්මික නිශාන්ත ජයසුන්දර, ආර්ඩබ්පී, ආර්එස්පී (නි/60742)
(4) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) හෙනරත්ගේ දමිත ගෝමින් රණසිංහ, යූඑස්පී (නි/60754)

*(ඌ) 2014 අගෝස්තු මස 04 වැනි දින සිට :*

කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) නල්ලහැන්දිගේ ඉඳුනිල් ද සිල්වා, ආර්එස්පී (නි/60943)

*(එ) 2014 අගෝස්තු මස 05 වැනි දින සිට :*

කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) දේවේන්ද්‍රරගේ රංජිත් ධර්මසිරි, යූඑස්පී, එච්ඩීඑම්සී (නි/60307)

*(ඒ) 2014 සැප්තැම්බර් මස 20 වැනි දින සිට :*

කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) හේමානන්දි තමාරා වික්‍රමසේකර (නි/61891)

*(ඔ) 2014 ඔක්තෝබර් මස 10 වැනි දින සිට :*

කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) ඒකනායක පණ්ඩිත බ්‍රාහ්මණ සමරතුංග මුදියන්සේ රාළහාමිගේ රොහාන් දසරත් ඒකනායක (නි/61298)

*(ඕ) 2014 ඔක්තෝබර් මස 27 වැනි දින සිට :*

(1) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) හෙට්ටිගොඩ ලියනගේ වික්‍රම් මහේන්ද්‍ර ලියනගේ, ආර්ඩබ්පී, ආර්එස්පී (නි/60836)
(2) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) ඇන්ඩිගේ ප්‍රියංක ඉඳුනිල් ප්‍රනාන්දු, ආර්ඩබ්පී, යූඑස්පී (නි/60847)
(3) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) අජිත් ප්‍රියන්කර පල්ලාවෙල, ආර්ඩබ්පී, ආර්එස්පී (නි/60859)

*(ක) 2015 ජනවාරි මස 2 වැනි දින සිට :*

කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) වන්නිආරච්චිගේ ගාමිණී දීපාල් වන්නිආරච්චි, පීඑස්සී (නි/60478)

*(ග) 2015 මාර්තු මස 1 වැනි දින සිට :*

(1) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) කැකුලන්දර මුදියන්සේලාගේ රංජිත් අබේසිංහ, ආර්එස්පී, යූඑස්පී (නි/60788)
(2) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) චන්ද්‍රජිත් සුමිත්‍ර කග්ගොඩආරච්චි, ආර්එස්පී (නි/61373)

*(ච) 2015 මාර්තු මස 16 වැනි දින සිට :*

(1) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) ශාන්ත කුමාර ඊශ්වරන්, යූඑස්පී, පීඑස්සී, එච්ඩීඑම්සී (නි/61003)
(2) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) ඉහලගෙදර හේරත් මුදියන්සේලාගේ නිශාන්ත නන්දජී හේරත්, ආර්එස්පී, යූඑස්පී, පීඑස්සී (නි/61008)
(3) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) තුවාන් සුරේෂ් සලේ, ආර්ඩබ්පී, ආර්එස්පී, යූඑස්පී, පීඑස්සී (නි/61011)
(4) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) රාජපක්ෂ පතිරන්නැහෙලාගේ දෙන් උපාලි රාජපක්ෂ, ආර්ඩබ්පී, ආර්එස්පී (නි/61012)
(5) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) දමියන්ගොඩ ගමගේ සුජීව සෙනරත්යාපා, ආර්ඩබ්පී, ආර්එස්පී (නි/61016)
(6) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) වනසිංහ ආරච්චිගේ සංජය සේනාධි වනසිංහ, ආර්එස්පී, යූඑස්පී (නි/61019)
(7) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) පට්ටියගේ අශෝක ජයන්ත පීරිස් (නි/61021)
(8) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) ප්‍රදීප් ජෝ ප්‍රියන්ත ගමගේ, ආර්ඩබ්පී, ආර්එස්පී (නි/61024)
(9) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) කතලුව පටබැදිගේ සුමිත් ප්‍රේමලාල්, ආර්ඩබ්පී, ආර්එස්පී, යූඑස්පී (නි/61027)
(10) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) ඉහල ගෙදර රෝලන්ඩ් ගුණසේන බෝගොඩවත්ත (නි/61031)
(11) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) සිසිර ප්‍රියන්ත කුමාර අබේසිංහ පිලපිටිය, ආර්ඩබ්පී, ආර්එස්පී, යූඑස්පී (නි/61033)
(12) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) මැණික් කංකානම්ගේ සමන්ත සිල්වා, ආර්ඩබ්පී, ආර්එස්පී (නි/61041)
(13) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) සමරකෝන් මුදියන්සේලාගේ සාරද පද්මකුමාර බණ්ඩාර සමරකෝන්, ආර්ඩබ්පී, ආර්එස්පී (නි/61049)

*(ජ) 2015 මැයි මස 1 වැනි දින සිට*

කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) දිසානායක මුදියන්සේලාගේ උධිත ගුණසේකර බණ්ඩාර, ආර්ඩබ්පී, ආර්එස්පී, යූඑස්පී (නි/60881)

*(ට) 2015 ජුනි මස 1 වැනි දින සිට :*

කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) එඩ්වඩ් සෙනෙවිරත්න ජයසිංහ, යූඑස්පී (නි/62613)

*(ඩ) 2015 ජූලි මස 21 වැනි දින සිට :*

(1) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) දිසානායක මුදියන්සේලාගේ ටිකිරිබණ්ඩාර දිසානායක, ආර්එස්පී (නි/61075)
(2) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) රණවිර ආරච්චිගේ කපිල රණවිර, ආර්එස්පී, යූඑස්පී (නි/61082)
(3) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) හේරත් මුදියන්සේලාගේ තිලක් බංඩාර හංගිලිපොල, ආර්ඩබ්පී, ආර්එස්පී (60839)
(4) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) නානායක්කාරවසම් කළුපහන ලියනගේ සුසන්ත රවීන්ද්‍ර ඩයස්, ආර්එස්පී (නි/61072)
(5) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) හමරාගොඩ කොඩිතුවක්කු ආරච්චිගේ චූල රත්නසිරි කොඩිතුවක්කු, ආර්ඩබ්පී, ආර්එස්පී, යූඑස්පී (නි/61101)

*(ත) 2016 සැප්තැම්බර් මස 1 වැනි දින සිට :*

(1) කර්නල් (තාවකාලික බ්‍රිගේඩියර්) මල්ලිකා අප්පුහමිලාගේ අමිත මන්ත්‍රිරත්න (65624)

අතිගරු ජනාධිපති උතුමාණන්ගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 08 වැනි දින,
කොළඹ දී ය.

12 - 912

---

2017 අංක 1549

MOD/DEF/2/01/ARF/REM/1555.

**ශ්‍රී ලංකා යුද්ධ හමුදාව - ස්ථිර බල හමුදව**

අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කරන ලද නිල ස්ථිර කිරීමක් සහ වෛද්‍ය හේතූන් මත විශ්‍රාම ගැනීම

**නිල ස්ථිර කිරීමක්**

පහත නම සඳහන් නිලධාරි 2017 සැප්තැම්බර් මස 07 වැනි දින සිට මේජර් නිලයේ ස්ථිර කිරීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

තාවකාලික මේජර් ජයකොඩි ආරච්චිලාගේ පුෂ්ප නන්ද ජයකොඩි, ආර්ඩබ්පී, ආර්එස්පී, ගැහේබ (නි/63567)

**විශ්‍රාම ගැනීමක්**

පහත නම සඳහන් නිලධාරි 2017 සැප්තැම්බර් මස 08 වැනි දින සිට ශ්‍රී ලංකා යුද්ධ හමුදවේ ස්ථිර බල හමුදවෙන් වෛද්‍ය හේතූන් මත විශ්‍රාම ගැනීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

මේජර් ජයකොඩි ආරච්චිලාගේ පුෂ්ප නන්ද ජයකොඩි, ආර්ඩබ්පී, ආර්එස්පී, ගැහේබ (නි/63567)

අතිගරු ජනාධිපති උතුමාණන්ගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 05 වැනි දින,
කොළඹ දී ය.

12 - 915

---

2017 අංක 1550

MOD/DEF/2/01/ARF/REM/1557.

**ශ්‍රී ලංකා යුද්ධ හමුදාව - ස්ථිර බල හමුදව**

අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කරන ලද නිල ස්ථිර කිරීමක් සහ වෛද්‍ය හේතූන් මත විශ්‍රාම ගැනීම

**නිල ස්ථිර කිරීමක්**

පහත නම සඳහන් නිලධාරි 2017 සැප්තැම්බර් මස 20 වැනි දින සිට මේජර් නිලයේ ස්ථිර කිරීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

තාවකාලික මේජර් වානගුරුගේ ඥානතිලක කමල්, ආර්ඩබ්පී, ආර්එස්පී, විපාරෙ (නි/65399)

**විශ්‍රාම ගැනීමක්**

පහත නම සඳහන් නිලධාරි 2017 සැප්තැම්බර් මස 21 වැනි දින සිට ශ්‍රී ලංකා යුද්ධ හමුදවේ ස්ථිර බල හමුදවෙන් වෛද්‍ය හේතූන් මත විශ්‍රාම ගැනීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

මේජර් වානගුරුගේ ඥානතිලක කමල්, ආර්ඩබ්පී, ආර්එස්පී, විපාරෙ (නි/65399)

අතිගරු ජනාධිපති උතුමාණන්ගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 05 වැනි දින,
කොළඹ දී ය.

12 - 916

2017 අංක 1551

MOD/DEF/2/01/ARF/REM/1556.

**ශ්‍රී ලංකා යුද්ධ හමුදාව - ස්ථිර බල හමුදව**

අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කරන ලද නිල ස්ථිර කිරීමක් සහ වෛද්‍ය හේතුන් මත විශ්‍රාම ගැනීම

**නිල ස්ථිර කිරීමක්**

පහත නම සඳහන් නිලධාරි 2017 සැප්තැම්බර් මස 20 වැනි දින සිට මේජර් නිලයේ ස්ථිර කිරීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

තාවකාලික මේජර් බොකලවල ගජන් ගෙදර දමයන්ත සිරිල් වික්‍රමසිංහ, විපාරෙ (නි/65962)

**විශ්‍රාම ගැනීමක්**

පහත නම සඳහන් නිලධාරි 2017 සැප්තැම්බර් මස 21 වැනි දින සිට ශ්‍රී ලංකා යුද්ධ හමුදවේ ස්ථිර බල හමුදවෙන් වෛද්‍ය හේතුන් මත විශ්‍රාම ගැනීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

මේජර් බොකලවල ගජන් ගෙදර දමයන්ත සිරිල් වික්‍රමසිංහ, විපාරෙ (නි/65962)

අතිගරු ජනාධිපති උතුමාණන්ගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 05 වැනි දින,
කොළඹ දී ය.

12 - 910

---

2017 අංක 1552

MOD/DEF/2/01/ARF/RET/1560.

**ශ්‍රී ලංකා යුද්ධ හමුදාව - ස්ථිර බල හමුදව**

අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කරන ලද නිල ස්ථිර කිරීමක් සහ විශ්‍රාම ගැනීමක්

**නිල ස්ථිර කිරීමක්**

පහත නම සඳහන් නිලධාරි 2017 දෙසැම්බර් මස 16 වැනි දින සිට මේජර් නිලයේ ස්ථිර කිරීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

තාවකාලික මේජර් හිටිහාමි මුදියන්සේලාගේ හර්ෂ කුමාර ගුණවර්ධන, ශ්‍රීලකාහ (නි/63379)

**විශ්‍රාම ගැනීමක්**

පහත නම සඳහන් නිලධාරි 2017 දෙසැම්බර් මස 16 වැනි දින සිට ශ්‍රී ලංකා යුද්ධ හමුදවේ ස්ථිර බල හමුදවෙන් විශ්‍රාම ගැනීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

මේජර් හිටිහාමි මුදියන්සේලාගේ හර්ෂ කුමාර ගුණවර්ධන, ශ්‍රීලකාහ (නි/63379)

අතිගරු ජනාධිපති උතුමාණන්ගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 08 වැනි දින,
කොළඹ දී ය.

12 - 911

---

2017 අංක 1553

MOD/DEF/2/01/ARF/RET/1558.

**ශ්‍රී ලංකා යුද්ධ හමුදාව - ස්ථිර බල හමුදව**

අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කරන ලද නිල ස්ථිර කිරීමක් සහ විශ්‍රාම ගැනීමක්

**නිල ස්ථිර කිරීමක්**

පහත නම සඳහන් නිලධාරිණී 2018 ජනවාරි මස 31 වැනි දින සිට මේජර් නිලයේ ස්ථිර කිරීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

තාවකාලික මේජර් පාරමුල්ලගේ දෙන් ගයානි පිළිමතලාව, ශ්‍රීලයුකාබ (නි/65763)

**විශ්‍රාම ගැනීමක්**

පහත නම සඳහන් නිලධාරිණී 2018 පෙබරවාරි මස 01 වැනි දින සිට ශ්‍රී ලංකා යුද්ධ හමුදවේ ස්ථිර බල හමුදවෙන් විශ්‍රාම ගැනීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

මේජර් පාරමුල්ලගේ දෙන් ගයානි පිළිමතලාව, ශ්‍රීලයුකාබ (නි/65763)

අතිගරු ජනාධිපති උතුමාණන්ගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 05 වැනි දින,
කොළඹ දී ය.

12 - 917

2017 අංක 1554

MOD/DEF/2/01/ARF/RET/1559.

**ශ්‍රී ලංකා යුද්ධ හමුදාව - ස්ථිර බල හමුදව**

අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කරන ලද නිල ස්ථිර කිරීමක් සහ විශ්‍රාම ගැනීමක්

**නිල ස්ථිර කිරීමක්**

පහත නම සඳහන් නිලධාරී 2018 පෙබරවාරි මස 01 වැනි දින සිට මේජර් නිලයේ ස්ථිර කිරීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

තාවකාලික මේජර් වෙදහේනේ ගෙදර ජයන්ත අමරසිංහ, කරෙ (නි/64775)

**විශ්‍රාම ගැනීමක්**

පහත නම සඳහන් නිලධාරී 2018 පෙබරවාරි මස 02 වැනි දින සිට ශ්‍රී ලංකා යුද්ධ හමුදවේ ස්ථිර බල හමුදවෙන් විශ්‍රාම ගැනීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

මේජර් වෙදහේනේ ගෙදර ජයන්ත අමරසිංහ, කරෙ (නි/64775)

අතිගරු ජනාධිපති උතුමාණන්ගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 08 වැනි දින,
කොළඹ දී ය.

12 - 913

---

MOD/DEF/02/01/ARF/RET/1527.

**ශ්‍රී ලංකා යුද්ධ හමුදාව - ස්ථිර බල හමුදව**

අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කරන ලද නිල පහත හෙළීමක් සහ විශ්‍රාම ගැනීමක්

**නිල පහත හෙළීමක්**

පහත නම සඳහන් නිලධාරී 2015 ජුනි මස 30 වැනි දින සිට කපිතන් නිලයට නිල පහත හෙළීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

තාවකාලික මේජර් ගම්මම්පිල ඉමියාගේ දෙන් මනුර ධර්මරත්න, ශ්‍රීලවියාඉ (නි/66284)

**විශ්‍රාම ගැනීමක්**

පහත නම සඳහන් නිලධාරී 2015 ජූලි මස 01 වැනි දින සිට ශ්‍රී ලංකා යුද්ධ හමුදවේ ස්ථිර බල හමුදවෙන් විශ්‍රාම ගැනීම අතිගරු ජනාධිපති උතුමාණන් විසින් අනුමත කර ඇත.

කපිතන් ගම්මම්පිල ඉමියාගේ දෙන් මනුර ධර්මරත්න, ශ්‍රීලවියාඉ (නි/66284)

අතිගරු ජනාධිපති උතුමාණන්ගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 නොවැම්බර් මස 13 වැනි දින,
කොළඹ දී ය.

12 - 914

---

2017 අංක 1555

MOD/DEF/10/03/RET/184.

**ශ්‍රී ලංකා ගුවන් හමුදව**

අතිගරු ජනාධිපතිතුමා විසින් අනුමත කරන ලද විශ්‍රාම ගැනීමක්

2017 දෙසැම්බර් මස 01 වැනි දින සිට බල පැවැත්වෙන පරිදි පහත නම සඳහන් නිලධාරියා ශ්‍රී ලංකා ගුවන් හමුදවෙන් විශ්‍රාම ගන්නා ලද බව මෙයින් දැනුම් දෙනු ලැබේ.

ගෲප් කැප්ටන් රාජපක්ෂ මුදලිගේ දෙන් ජනක චන්දිම සමරනායක (01757) - ගුවන් තොටුපල නිර්මාණ

අතිගරු ජනාධිපති උතුමාණන්ගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 08 වැනි දින,
කොළඹ දී ය.

12 - 1061

2017 අංක 1556

MOD/DEF/10/03/RES/97.

## ශ්‍රී ලංකා ගුවන් හමුදාව

### අතිගරු ජනාධිපතිතුමා විසින් අනුමත කරන ලද අධිකාරියෙන් ඉල්ලා අස්වීමක්

2017 දෙසැම්බර් මස 31 වැනි දින සිට ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ පහත නම සඳහන් නිලධාරියාගේ අධිකාරියෙන් ඉල්ලා අස්වීම අතිගරු ජනාධිපතිතුමා විසින් අනුමත කර ඇත.

ස්කොඩ්රන් ලීඩර් ඇත්තිලිගොඩ ගමගේ සමීර සුපුෂ්පිත ගමගේ (02580) - දන්ත වෛද්‍ය

අතිගරු ජනාධිපතිතුමාගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 නොවැම්බර් මස 08 වැනි දින,
කොළඹ දී ය.

12 - 880

---

2017 අංක 1557

MOD/DEF/10/03/RET/183.

## ශ්‍රී ලංකා ගුවන් හමුදාව

### අතිගරු ජනාධිපතිතුමා විසින් අනුමත කරන ලද විශ්‍රාම ගැනීමක්

2018 අප්‍රේල් මස 10 වැනි දින සිට බල පැවැත්වෙන පරිදි පහත නම සඳහන් නිලධාරිණිය ශ්‍රී ලංකා ගුවන් හමුදාවෙන් විශ්‍රාම ගන්නා ලද බව මෙයින් දැනුම් දෙනු ලැබේ.

ස්කොඩ්රන් ලීඩර් ඇතාඋඩගේ රාජිකා උමාලි පෙරේරා (OW/01076) කාර්මික ඉංජිනේරු

අතිගරු ජනාධිපතිතුමාගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 08 වැනි දින,
කොළඹ දී ය.

12 - 1062

---

2017 අංක 1558

MOD/DEF/10/03/COM/RAF.

## ශ්‍රී ලංකා ගුවන් හමුදාව

### අතිගරු ජනාධිපතිතුමා විසින් අනුමත කරන ලද අධිකාරියට පත්කිරීම්

පහත නම් සඳහන් කැඩෙට් නිලධාරීන් ඔවුන්ගේ නම් වලට ඉදිරියෙන් ඇති දින සිට ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ පයිලට් ඔෆිසර් නිලයේ අධිකාරියට පත් කිරීමටත් එදිනම සිට ඔවුන්ගේ නම් වලට ඉදිරියෙන් ඇති ශාඛාවන්ට ඇතුළත් කිරීමටත් අතිගරු ජනාධිපතිතුමා විසින් ප්‍රසාදය පළකොට ඇත.

12037 කැඩෙට් නිලධාරි ගම්මාරච්චිලාගේ සජිත් භාතිය සිරිවර්ධන, සැපයුම් 2015.09.16
12049 කැඩෙට් නිලධාරි වීරතුංග ආරච්චිගේ ෂෙහාන් උවිඳු ද කොස්තා, සැපයුම් 2015.09.16
12050 කැඩෙට් නිලධාරි විජේනායක මුදලිගේ නදීශ මධුශංක විජේනායක, සැපයුම් 2015.09.16
12051 කැඩෙට් නිලධාරි නිකගහගේ රවිඳු සම්පත් පෙරේරා, පරි/රෙජි 2015.09.16
12052 කැඩෙට් නිලධාරි සරත් සිසිර කුමාරගේ සම්පත් නාමල් බණ්ඩාර රත්නායක, පරි/රෙජි 2015.09.16
12053 කැඩෙට් නිලධාරි විතාන පතිරත්නලාගේ කසුන් චතුරංග කුමාර විතාන, පරි/රෙජි 2015.09.16

අතිගරු ජනාධිපතිතුමාගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 08 වැනි දින,
කොළඹ දී ය.

12 - 1064

---

2017 අංක 1559

MOD/DEF/10/03/COM/RAF.

## ශ්‍රී ලංකා ගුවන් හමුදාව

### අතිගරු ජනාධිපතිතුමා විසින් අනුමත කරන ලද අධිකාරියට පත්කිරීම

පහත නම සඳහන් කැඩෙට් නිලධාරියා ඔහුගේ නමට ඉදිරියෙන් ඇති දින සිට ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ පයිලට් ඔෆිසර් නිලයේ අධිකාරියට පත් කිරීමටත් එදිනම සිට ඔහුගේ නමට ඉදිරියෙන් ඇති

ශාඛාවට ඇතුළත් කිරීමටත් අතිගරු ජනාධිපතිතුමා විසින් ප්‍රසාදය පලකොට ඇත.

11947 කැඩෙට් නිලධාරි නාමල් තරංග වාසල්තිලක, මෙහෙ/ගුවන් 2016.07.30

අතිගරු ජනාධිපතිතුමාගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 08 වැනි දින,
කොළඹ දී ය.

12 - 1065

---

2017 අංක 1560

MOD/DEF/10/03/COM/RAF.

**ශ්‍රී ලංකා ගුවන් හමුදාව**

අතිගරු ජනාධිපතිතුමා විසින් අනුමත කරන ලද අධිකාරියට පත්කිරීම්

පහත නම සඳහන් කැඩෙට් නිලධාරීන් ඔවුන්ගේ නම් වලට ඉදිරියෙන් ඇති දින සිට ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ පයිලට් ඔෆිසර් නිලයේ අධිකාරියට පත් කිරීමටත් එදිනම සිට ඔවුන්ගේ නම් වලට ඉදිරියෙන් ඇති ශාඛාවන්ට ඇතුළත් කිරීමටත් අතිගරු ජනාධිපතිතුමා විසින් ප්‍රසාදය පළකොට ඇත.

12014 කැඩෙට් නිලධාරි කනකරත්න මුදියන්සේලාගේ චාමික සුභාෂිත බණ්ඩාර, නි.පො.රා. 2016.07.30

12016 කැඩෙට් නිලධාරි දිවාකර වික්‍රමසිංහ රාජපක්ෂ නිසිවාසල මුදියන්සේලාගේ මඩුගල්ලේ වලව්වේ ඉසංක හර්ෂ මඩුගල්ල, නි.පො.රා. 2016.07.30

12017 කැඩෙට් නිලධාරි විජේවර්ධන සෙනෙවිරත්න අබේකෝන් වාසල මුදියන්සේ රාලහාමිලාගේ ෂෙවාන් නිරොෂන් සිඩ්නි රත්වත්ත, නි.පො.රා. 2016.07.30

12018 කැඩෙට් නිලධාරි තෝල්ක මුදලිගේ තිසර රවිශාන් රුදිගු, නි.පො.රා. 2016.07.30

අතිගරු ජනාධිපතිතුමාගේ අණ පරිදි,

කපිල වෛද්‍යරත්න, ජනාධිපති නීතිඥ,
ලේකම්,
ආරක්ෂක අමාත්‍යාංශය.

2017 දෙසැම්බර් මස 08 වැනි දින,
කොළඹ දී ය.

12 - 1063

---

## වෙනත් පත්කිරීම් ආදිය

**ශ්‍රී ලංකා යුද්ධ හමුදාව - ස්වේච්ඡා බලසේනාව**

යුද්ධ හමුදාධිපති විසින් අනුමත කරන ලද නිල පහත හෙලීමක්

**නිල පහත හෙලීම**

පහත නම සඳහන් නිලධාරිගේ වත්මන් නිලය 2011 අප්‍රේල් මස 30 වැනි දින සිට ඔහුගේ ස්ථිර නිලය වන ලුතිනන් නිලය දක්වා පහත හෙලීම යුද්ධ හමුදාධිපති විසින් අනුමත කර ඇත.

තාවකාලික කපිතන් කුට්ටිකන්ද ගමඇතිරාළලාගේ ටයිටස්, ශ්‍රීලංජාආබමු (නි/5341)

එන් යූ එම් එම් ඩබ්ලිව් සේනානායක,
ආර්ඩබ්ලිව්පී, ආර්එස්පී, යූඑස්පී, පීඑස්සී,
ලුතිනන් ජෙනරාල්,
යුද්ධ හමුදාධිපති.

2017 නොවැම්බර් මස 10 වැනි දින,
කොළඹ දී ය.

12 - 824

# රජයේ නිවේදන

## ඉඩම් මැනුම් සභාව

### ඉඩම් හා පාර්ලිමේන්තු ප්‍රතිසංස්කරණ අමාත්‍යාංශය

2002 අංක 17 දරන මැනුම් පනතේ 47 (1) (ආ) වන වගන්තිය යටතේ ලියාපදිංචිය අත්හිටුවන ලද මිනින්දෝරුවරුන්ගේ නාම ලේඛනය

| *ලියාපදිංචි අංකය* | *සම්පූර්ණ නම* | *අත්හිටුවන ලද කාලය* |
|---|---|---|
| 1. 19890159 | හපුගස්තැන්නගේ විජයතුංග | 2017-11-01 සිට 2018-10-31 දක්වා ලියාපදිංචිය අත්හිටුවන ලදි. |

පී. එම්. පී. උදයකාන්ත,
සභාපති,
ඉඩම් මැනුම් සභාව.

වර්ෂ 2017 ක් වූ දෙසැම්බර් මස 11 වැනි දින,
කොළඹ දී ය.

12 - 879

---

මගේ අංකය : ආර්ජී/එන්බී/11/2/92/2017/පිටු/සැ.

## රෙජිස්ට්‍රාර් ජනරාල් දෙපාර්තමේන්තුව

### ඉඩම් ලියාපදිංචි කිරීමේ පොත්වල නැවත සකස් කළ පිටු පිළිබඳ (120 අධිකාරය) ආඥාපනත

මෙහි පහත උපලේඛනයෙහි දෙවැනි තීරුවේ සඳහන් ඉඩම් සහ තුන් වැනි තීරුවෙහි සඳහන් ඔප්පුවලට අදාළ පළමුවන තීරුවේ දැක්වෙන දැනට කැඩී බිඳී ගොස් ඇති ඉඩම් ලියාපදිංචි කළ පොත්/පිටුව නැවත සම්පූර්ණව, තාවකාලිකව සකස් කර ඇති බැව් ඉඩම් ලියාපදිංචි කළ පොත්වල නැවත සකස් කළ පිටු පිළිබඳ (120 අධිකාරය) ආඥාපනතේ 4 වැනි වගන්තිය අනුව මෙයින් දැනුම් දෙමි.

02. වර්ෂ 2017.12.29 වැනි දින සිට 2018.01.12 වැනි දින දක්වා සතියේ වැඩ කරන දිනවල පෙ.ව. 10.00 සිට ප. ව. 3.00 දක්වා ඕනෑම අයෙකුට ඉහත කී තාවකාලික පිටුව දෙල්කඳ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ දී පරීක්ෂාකර බැලිය හැකි ය.

03. එම තාවකාලික පිටුවේ කිසියම් හෝ එවැනි සටහනක අඩංගු යම් කරුණක් පිළිබඳව යම් විරුද්ධත්වයක් ප්‍රකාශ කර සිටීමට කැමති කෙනෙකු විසින් හෝ යම් සටහනක් හෝ යම්කිසි සටහනකින් අතහැර දමන ලද කරුණක් අඩංගු කරවා ගැනීමට ඉල්ලීමක් ඉදිරිපත් කිරීමට කැමති කෙනෙකු විසින් එකී විරුද්ධත්වය හෝ ඉල්ලීම අඩංගු ලියවිල්ලක් සවිස්තරාත්මකව පැහැදිලිව එය තහවුරු කෙරෙන ලියවිලි සමග 2018.01.19 වැනි දිනට පෙර මෙහි පහත අත්සන් කළ අයට ලැබෙන සේ රෙජිස්ට්‍රාර් ජනරාල් කාර්යාලය වෙත ලියාපදිංචි තැපෑලෙන් එවිය යුතු ය.

නීල් ද අල්විස්,
රෙජිස්ට්‍රාර් ජනරාල්.

රෙජිස්ට්‍රාර් ජනරාල් දෙපාර්තමේන්තුව,
අංක 234/ඒ3,
ඩෙන්සිල් කොබ්බෑකඩුව මාවත,
බත්තරමුල්ල.

**උපලේඛනය**

| *ලියාපදිංචි පොත්වල කැඩී බිඳී ඇති පිටුවල විස්තර* | *ඉඩම්වල විස්තර* | *ලියාපදිංචි කළ ඔප්පුවල විස්තර* |
|---|---|---|
| කොළඹ දිස්ත්‍රික්කයේ, දෙල්කඳ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ එම් කොට්ඨාසයේ 2747 වෙළුමේ 244 පත්‍රිරුව | බස්නාහිර පළාතේ, කොළඹ දිස්ත්‍රික්කයේ, පල්ලේ පත්තුවේ, සල්පිටි කෝරළේ, පන්නිපිටිය පිහිටි 'සම්බුද්ධ දෙල්ගහවත්ත හෙවත් දෙල්ගහවත්ත' නමැති ඉඩමේ අංක 3A6 දරන කැබැල්ලට බලයලත් මානක එච්. ඩී. ප්‍රේමරත්න මහතා විසින් 2003.07.20 වැනි දින මැන සාදන ලද අංක 3684ඒ දරන පිඹුරට ප්‍රකාර මායිම්,<br><br>උතුරට : පිඹුරු අංක 3684හි ලොට් 2A,<br>නැගෙනහිරට : ලොට් 3A5,<br>දකුණ : හයිලෙවල් පාර,<br>බස්නාහිර : ආර්. ඩී. ඒ. සෙනෙවිරත්න හිමිකම් කියන ලොට් 2A.<br><br>ප්‍රමාණය : අ. 0, රූ. 0, ප. 33. | එම්. ඩබ්. එස්. එස්. මංගලී ප්‍රසිද්ධ නොතාරිස් විසින් ලියා සහතික කරන ලද 2006.10.01 වැනි දින අංක 149 දරන තෑගි ඔප්පුව. |

12 - 898

---

මගේ අංකය : ආර්ජී/එන්බී/11/2/91/2017/පිටු/සැ.

**රෙජිස්ට්‍රාර් ජනරාල් දෙපාර්තමේන්තුව**

ඉඩම් ලියාපදිංචි කිරීමේ පොත්වල නැවත සකස් කළ පිටු පිළිබඳ (120 අධිකාරය) ආඥාපනත

මෙහි පහත උපලේඛනයෙහි දෙවැනි තීරුවේ සඳහන් ඉඩම් සහ තුන්වැනි තීරුවෙහි සඳහන් ඔප්පුවලට අදාළ පළමුවන තීරුවේ දැක්වෙන දැනට කැඩී බිඳී ගොස් ඇති ඉඩම් ලියාපදිංචි කළ පොත්/පිටුව නැවත සම්පූර්ණව, තාවකාලිකව සකස් කර ඇති බැව් ඉඩම් ලියාපදිංචි කළ පොත්වල නැවත සකස් කළ පිටු පිළිබඳ (120 අධිකාරය) ආඥාපනතේ 4 වැනි වගන්තිය අනුව මෙයින් දැනුම් දෙමි.

02. වර්ෂ 2017.12.29 වැනි දින සිට 2018.01.12 වැනි දින දක්වා සතියේ වැඩ කරන දිනවල පෙ.ව. 10.00 සිට ප. ව. 3.00 දක්වා ඕනෑම අයෙකුට ඉහත කී තාවකාලික පිටුව කොළඹ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ දී පරීක්ෂාකර බැලිය හැකි ය.

03. එම තාවකාලික පිටුවේ කිසියම් හෝ එවැනි සටහනක අඩංගු යම් කරුණක් පිළිබඳව යම් විරුද්ධත්වයක් ප්‍රකාශ කර සිටීමට කැමති කෙනෙකු විසින් හෝ යම් සටහනක් හෝ යම්කිසි සටහනකින් අතහැර දමන ලද කරුණක් අඩංගු කරවා ගැනීමට ඉල්ලීමක් ඉදිරිපත් කිරීමට කැමති කෙනෙකු විසින් එකී විරුද්ධත්වය හෝ ඉල්ලීම අඩංගු ලියවිල්ලක් සවිස්තරාත්මකව පැහැදිලිව එය තහවුරු කෙරෙන ලියවිලි සමග 2018.01.19 වැනි දිනට පෙර මෙහි පහත අත්සන් කළ අයට ලැබෙන සේ රෙජිස්ට්‍රාර් ජනරාල් කාර්යාලය වෙත ලියාපදිංචි තැපෑලෙන් එවිය යුතු ය.

නීල් ද අල්විස්,
රෙජිස්ට්‍රාර් ජනරාල්.

රෙජිස්ට්‍රාර් ජනරාල් දෙපාර්තමේන්තුව,
අංක 234/ඒ3,
ඩෙන්සිල් කොබ්බෑකඩුව මාවත,
බත්තරමුල්ල.

**උපලේඛනය**

| *ලියාපදිංචි පොත්වල කැඩී බිඳී ඇති පිටුවල විස්තර* | *ඉඩම්වල විස්තර* | *ලියාපදිංචි කළ ඔප්පුවල විස්තර* |
|---|---|---|
| කොළඹ දිස්ත්‍රික්කයේ, කොළඹ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ කිරිල්ල කොට්ඨාසයේ 57 වෙළුමේ 119, 120 පත්‍රිරුව | බස්නාහිර පළාතේ, කොළඹ දිස්ත්‍රික්කයේ, කිරුලපන පිහිටි 'කිරිපැල්ලගහවත්ත' නමැති ඉඩමට බලයලත් මානක අයි. ඩබ්. ඩබ්. ඉන්දතිස්ස මහතා විසින් 1945.07.01 වැනි දින මැන සාදන ලද අංක 1091ඊ දරන පිඹුරේ ලොට් '5' සඳහා මායිම්,<br><br>උතුරට : අංක 1091ඊ දරන ප්ලෑනේ ලොට් 04 සහ නාරහේන්පිට පාර,<br>නැගෙනහිරට : නාරහේන්පිට පාර,<br>දකුණට : අංක 1091ඊ දරන ප්ලෑනේ ලොට් 06 සහ 07 දරන කොටස් ද,<br>බස්නාහිරට : අංක 1091ඊ දරන ප්ලෑනේ ලොට් 02 සහ 03 දරන කොටස් ද,<br><br>ප්‍රමාණය : අ. 0, රූ. 01, ප. 0.65 | 01. එස්. ඊ. අබේසූරිය ප්‍රසිද්ධ නොතාරිස් විසින් ලියා සහතික කරන ලද 1964.11.02 වැනි දින අංක 1539 දරන විකුණුම්කරය.<br><br>02. බී. ඊ. එස්. අයි. පෙරේරා ප්‍රසිද්ධ නොතාරිස් විසින් ලියා සහතික කරන ලද 1971.04.18 වැනි දින අංක 735 දරන උකස්කරය.<br><br>03. ඒ. ජී. එච්. සදරත්න ප්‍රසිද්ධ නොතාරිස් විසින් ලියා සහතික කරන ලද 1978.07.20 වැනි දින අංක 33141 දරන විකුණුම්කරය. |

12 - 1012

---

මගේ අංකය : ආර්ජී/එන්බී/11/2/94/2017/පිටු/සැ.

## රෙජිස්ට්‍රාර් ජනරාල් දෙපාර්තමේන්තුව

### ඉඩම් ලියාපදිංචි කිරීමේ පොත්වල නැවත සකස් කළ පිටු පිළිබඳ (120 අධිකාරය) ආඥාපනත

මෙහි පහත උපලේඛනයෙහි දෙවැනි තීරුවේ සඳහන් ඉඩම් සහ තුන්වැනි තීරුවෙහි සඳහන් ඔප්පුවලට අදාළ පළමුවන තීරුවේ දැක්වෙන දැනට කැඩී බිඳී ගොස් ඇති ඉඩම් ලියාපදිංචි කළ පොත්/පිටුව නැවත සම්පූර්ණව, තාවකාලිකව සකස් කර ඇති බැව් ඉඩම් ලියාපදිංචි කළ පොත්වල නැවත සකස් කළ පිටු පිළිබඳ (120 අධිකාරය) ආඥාපනතේ 4 වැනි වගන්තිය අනුව මෙයින් දැනුම් දෙමි.

02. වර්ෂ 2017.12.29 වැනි දින සිට 2018.01.12 වැනි දින දක්වා සතියේ වැඩ කරන දිනවල පෙ.ව. 10.00 සිට ප. ව. 3.00 දක්වා ඕනෑම අයෙකුට ඉහත කී තාවකාලික පිටුව හෝමාගම ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ දී පරීක්ෂාකර බැලිය හැකි ය.

03. එම තාවකාලික පිටුවේ කිසියම් හෝ එවැනි සටහනක අඩංගු යම් කරුණක් පිළිබඳව යම් විරුද්ධත්වයක් ප්‍රකාශ කර සිටීමට කැමති කෙනෙකු විසින් හෝ යම් සටහනක් හෝ යම්කිසි සටහනකින් අතහැර දමන ලද කරුණක් අඩංගු කරවා ගැනීමට ඉල්ලීමක් ඉදිරිපත් කිරීමට කැමති කෙනෙකු විසින් එකී විරුද්ධත්වය හෝ ඉල්ලීම අඩංගු ලියවිල්ලක් සවිස්තරාත්මකව පැහැදිලිව එය තහවුරු කෙරෙන ලියවිලි සමග 2018.01.19 වැනි දිනට පෙර මෙහි පහත අත්සන් කළ අයට ලැබෙන සේ රෙජිස්ට්‍රාර් ජනරාල් කාර්යාලය වෙත ලියාපදිංචි තැපෑලෙන් එවිය යුතු ය.

නීල් ද අල්විස්,
රෙජිස්ට්‍රාර් ජනරාල්.

රෙජිස්ට්‍රාර් ජනරාල් දෙපාර්තමේන්තුව,
අංක 234/ඒ3,
ඩෙන්සිල් කොබ්බෑකඩුව මාවත,
බත්තරමුල්ල.

**උපලේඛනය**

| *ලියාපදිංචි පොත්වල කැඩී බිඳී ඇති පිටුවල විස්තර* | *ඉඩම්වල විස්තර* | *ලියාපදිංචි කළ ඔප්පුවල විස්තර* |
|---|---|---|
| කොළඹ දිස්ත්‍රික්කයේ, හෝමාගම ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ ජී දරන කොට්ඨාසයේ 1886 වෙළුමේ 01 පත්ඉරුව. | බස්නාහිර පළාතේ, කොළඹ දිස්ත්‍රික්කයේ, පල්ලේ පත්තුවේ, හේවාගම් කෝරළේ තලංගම උතුර පිහිටි 'තලගහඕවිට' නමැති ඉඩමේ අංක 01 දරන කැබැල්ලට මායිම්,<br><br>උතුර : එස්. ඒ. සුහසිංහ සහ තව අය හිමිකම්, කියන ඉඩම,<br>නැගෙනහිරට : ලොට් 02,<br>දකුණ : ප්‍රධාන පාර,<br>බස්නාහිර : කල්දේරා හිමිකම් කියන ඉඩම.<br><br>ප්‍රමාණය : අ. 0, රූ. 0, පර්. 39.9 (හෙක්. 0.0807) | 01. ජී. ආර්. ගමගේ ප්‍රසිද්ධ නොතාරිස් විසින් ලියා සහතික කරන ලද 2009.09.22 වැනි දින අංක 465 දරන තෑගි ඔප්පුව. |

08 - 1013

---

මගේ අංකය : ආර්ජී/එන්බී/11/2/69/2017/පිටු/සැ.

**රෙජිස්ට්‍රාර් ජනරාල් දෙපාර්තමේන්තුව**

**ඉඩම් ලියාපදිංචි කිරීමේ පොත්වල නැවත සකස් කළ පිටු පිළිබඳ (120 අධිකාරය) ආඥාපනත**

මෙහි පහත උපලේඛනයෙහි දෙවැනි තීරුවේ සඳහන් ඉඩම් සහ තුන්වැනි තීරුවෙහි සඳහන් ඔප්පුවලට අදාළ පළමුවන තීරුවේ දැක්වෙන දැනට කැඩී බිඳී ගොස් ඇති ඉඩම් ලියාපදිංචි කළ පොත්/පිටුව නැවත සම්පූර්ණව, තාවකාලිකව සකස් කර ඇති බැව් ඉඩම් ලියාපදිංචි කළ පොත්වල නැවත සකස් කළ පිටු පිළිබඳ (120 අධිකාරය) ආඥාපනතේ 4 වැනි වගන්තිය අනුව මෙයින් දැනුම් දෙමි.

02. වර්ෂ 2017.12.29 වැනි දින සිට 2018.01.12 වැනි දින දක්වා සතියේ වැඩ කරන දිනවල පෙ.ව. 10.00 සිට ප. ව. 3.00 දක්වා ඕනෑම අයෙකුට ඉහත කී තාවකාලික පිටුව කොළඹ අත්තනගල්ල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ දී පරීක්ෂාකර බැලිය හැකි ය.

03. එම තාවකාලික පිටුවේ කිසියම් හෝ එවැනි සටහනක අඩංගු යම් කරුණක් පිළිබඳව යම් විරුද්ධත්වයක් ප්‍රකාශ කර සිටීමට කැමති කෙනෙකු විසින් හෝ යම් සටහනක් හෝ යම්කිසි සටහනකින් අතහැර දමන ලද කරුණක් අඩංගු කරවා ගැනීමට ඉල්ලීමක් ඉදිරිපත් කිරීමට කැමති කෙනෙකු විසින් එකී විරුද්ධත්වය හෝ ඉල්ලීම අඩංගු ලියවිල්ලක් සවිස්තරාත්මකව පැහැදිලිව එය තහවුරු කෙරෙන ලියවිලි සමග 2018.01.19 වැනි දිනට පෙර මෙහි පහත අත්සන් කළ අයට ලැබෙන සේ රෙජිස්ට්‍රාර් ජනරාල් කාර්යාලය වෙත ලියාපදිංචි තැපෑලෙන් එවිය යුතු ය.

නීල් ද අල්විස්,
රෙජිස්ට්‍රාර් ජනරාල්.

රෙජිස්ට්‍රාර් ජනරාල් දෙපාර්තමේන්තුව,
අංක 234/ඒ3,
ඩෙන්සිල් කොබ්බෑකඩුව මාවත,
බත්තරමුල්ල.

**උපලේඛනය**

| *ලියාපදිංචි පොත්වල කැඩී බිඳී ඇති පිටුවල විස්තර* | *ඉඩම්වල විස්තර* | *ලියාපදිංචි කළ ඔප්පුවල විස්තර* |
|---|---|---|
| ගම්පහ දිස්ත්‍රික්කයේ, අත්තනගල්ල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ එල්ඩීම් 8බී වෙළුමේ 02 පත්ඉරුව. | බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, මීරිගම ප්‍රාදේශීය ආදායම් නිලධාරි කොට්ඨාසයේ, අංක 337බී, මාලිගාතැන්න ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ, මැද පත්තුවේ, වඳුරව ගමේ පිහිටි 'මාලිගාතැන්න' නමැති ඉඩමේ අංක 02 දරන ඉඩම් කැබැල්ලට මායිම්,<br><br>උතුර : කැබලි අංක 01,<br>නැගෙනහිරට : කැබලි අංක 01 සහ මාර්ග (ඉඩම් සංවර්ධන) මු.පි.ගම්,<br>දකුණ : මු.පි.ගම් 1300 පිඹුරේ කැබලි අංක 74, 3 සහ 2,<br>බස්නාහිර : උතුවන් බෝගහවත්තගම.<br><br>ප්‍රමාණය : හෙක්. 0.262 | ජනාධිපති ලේකම්ගේ 1994.04.05 වැනි දින අංක ගම්/ප්‍ර/මීරි/484 දරන දීමනා පත්‍රය. |

12 - 1016

---

# විවිධ දෙපාර්තමේන්තු දැන්වීම්

## නැෂනල් ඩිවලොප්මන්ට් බැන්ක් පීඑල්සී
## 1990 අංක 4 දරන බැංකු මගින් ණය ආපසු අය කර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ (සංශෝධිත) 4 වැනි වගන්තිය යටතේ අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කර ගැණුනු යෝජනාව

නැෂනල් ඩිවලොප්මන්ට් බැන්ක් පීඑල්සී හි අධ්‍යක්ෂක මණ්ඩලය විසින් වර්ෂ 2017 ක් වූ ඔක්තෝබර් මස 31 වැනි දින පැවැත්වූ රැස්වීමකදී පහත සඳහන් වන අයුරු විශේෂයෙන් හා ඒකමතිකව සම්මත කර ගන්නා ලදී.

"මරුතමුනායි දරන ස්ථානයේ පදිංචි මොහොමඩ් හනීෆා ෆමූඩීන් සහ මරුතමුනායි දරන ස්ථානයේ පදිංචි මොහොමඩ් හනීෆා ෆාතිමා සහානා (ණයට ගන්නන්) යන අය වෙත ප්‍රදානය කරන ලද ණය මුදල් / මූල්‍ය පහසුකම් වෙනුවෙන් සුරකුම් ලෙස ප්‍රසිද්ධ නොතාරිස් වී. කනගරත්නම් විසින් ලියා සහතික කරන ලද වර්ෂ 2015.07.15 දිනැති අංක 8638 සහ 2015.07.15 දිනැති අංක 8640 දරන උකස් බැඳුම්කරයන් මගින් නැෂනල් ඩිවලොප්මන්ට් බැන්ක් පීඑල්සී (බැංකුව) වෙත උකස් කොට සහ උකස් කරන ලද මෙහි පහත උපලේඛනයේ වඩාත් හොඳින් විස්තර කර ඇති දේපළ සහ පරිශ්‍රය සම්බන්ධයෙන් වූ උකස් බැඳුම්කරයන් මත අයවිය යුතු මුදල් ගෙවීම ණයට ගන්නන් විසින් පැහැර හැර ඇති හෙයින් ද,

තවද එකී මොහොමඩ් හනීෆා ෆාතිමා සහානා විසින් පහත උපලේඛනයේ විස්තර කරන දේපළ සහ පරිශ්‍රය සඳහා වන සිය නිදහස් අයිතිවාසිකම්, හිමිකම් සහ බලපුළුවන්කාරකම් එකී උකස් බැඳුම්කරයන් යටතේ බැංකුවට උකස්කර ඇති හෙයින්ද,

තවද වර්ෂ 2017 අගෝස්තු මස 31 වැනි දිනට එකී බැඳුම්කරයන් යටතේ බැංකුවට රුපියල් පන් මිලියන එක්ලක්ෂ දසදහස් හාරසිය අනූ නවයයි ශත හැත්තෑ පහක (රු. 51,10,499.75) මුදලක් අයවිය යුතුව හා ණයව පවතින බැවින්ද,

සංශෝධනය කරන ලද 1990 අංක 4 දරන බැංකු මගින් ණය ආපසු අය කර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනත (ප්‍රධාන පනත) යටතේ බැංකුවෙහි අධ්‍යක්ෂ මණ්ඩලය වෙත පවරා ඇති බලතල වලට අනුව එකී රුපියල් පන් මිලියන එක් ලක්ෂ දස දහස් හාරසිය අනූ නවයයි ශත හැත්තෑ පහක (රු. 51,10,499.75) මුදල සහ විකිණීම කරන අවස්ථාව වන විට නොගෙවා ඉතිරිව ඇති කවර හෝ කොටසක්ද, වර්ෂ 2017 සැප්තැම්බර් මස 01 වැනි දින සිට විකිණීම කරන දින දක්වා :-

i. එකී අංක 8638 දරන බැඳුම්කරය මගින් සුරකුම් කරන ලද සහ එකී අංක 8638 දරන බැඳුම්කරය යටතේ බැංකුවට හිගව පවතින මුදල වන රුපියල් තුන් මිලියන එක්ලක්ෂ හැටහයදහස් තුන්සීයක (රු. 3,166,300.00) මුදල මත වසරකට සියයට දොළහයි දශම හතයි පහ (12.75%) පොළියද,

ii. එකී අංක 8640 දරන බැඳුම්කරය මගින් සුරකුම් කරන ලද සහ එකී අංක 8640 දරන බැඳුම්කරය යටතේ

බැංකුවට හිඟව පවතින මුදල වන රුපියල් එක් මිලියන හාරලක්ෂ අනූදහස් විසිතුනයි ශත අට (රු. 14,90,023.08) ක මුදල මත වසරකට සියයට විසි අට (28%) පොළියද,

ප්‍රචාරය සහ විකිණීම සඳහා දරන්නට වන වියදම්ද ප්‍රධාන පනතේ 4 වැනි වගන්තියට අනුව දරා ඇති වෙනත් වියදම් ද මෙතැන් සිට ලබා ගන්නා කිසියම් ගෙවීමක් (එවැන්නක් ඇත්නම්) ඇත්නම් එය ද අඩුකර ආපසු අයකර ගැනීම පිණිස එකී බැඳුම්කරය මගින් බැංකුවට උකස් කර ඇති මෙහි පහත උපලේඛනයේ විස්තර කරනු ලබන දේපළ සහ පරිශ්‍රය බලයලත් වෙන්දේසිකරු වන පී. කේ. ඊ. සේනාපති විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණිය යුතු බවට ප්‍රධාන පනතේ ඔවුන් වෙත පවරා ඇති බලතල වලට අනුව බැංකුවේ අධ්‍යක්ෂක මණ්ඩලය විසින් මෙයින් තීරණය කරනු ලැබේ."

**උකස්කර ඇති දේපල පිළිබඳ විස්තරය**

නැගෙනහිර පළාතේ, අම්පාර දිස්ත්‍රික්කයේ, කරෙයිවාකු පත්තුවේ, පන්දිරිප්පු ගමෙහි පිහිටි "වෙන්පු වාලවු" නමැති ඉඩමේ දකුණු දිශාවේ දෙකෙන් පංගුවට මායිම්, නැගෙනහිරට : කාතිසවුමහගේ සහ ස්වාමි පුරුෂයාගේ ඉඩම, උතුරට : නකීමාවිවවුට තැගි කළ ඉඩම, බස්නාහිරට : පාර, දකුණට : කාතිසවුමහාගේ ඉඩම තුළ පිහිටි උතුර සිට දකුණට : බඹ 8 1/2 සහ නැගෙනහිර සිට බටහිරට : බඹ 14 ප්‍රමාණයෙන් යුතු ඉඩම සහ ඒ සමඟ ඇති සියළු අයිතිවාසිකම් වේ. මෙය ඩී 159/04 සහ කේ 126/263 යටතේ ලියාපදිංචි වී ඇත.

ඉහත උපලේඛනයේ විස්තර කර ඇති ඉඩම වී රාජේන්ද්‍රන් අවසරලත් මානක විසින් 2015.06.16 වැනි දින මැන සකස්කළ අංක ආර්/113/2015 දරන පිඹුර අනුව මෙසේය.

නැගෙනහිර පළාතේ, අම්පාර දිස්ත්‍රික්කයේ, කල්මුණෙයි ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය තුළ සහ කල්මුණෙයි මහා නගර සභා සීමාව තුළ කල්මුණෙයි ගමෙහි පිහිටි වරිපනම් අංක 14 දරන වී රාජේන්ද්‍රන් අවසරලත් මානක විසින් 2015.06.16 දින මැන සකස් කළ අංක ආර්/113/2015 දරන පිඹුරේ දක්වා ඇති "වෙන්පු පූමි" නමැති ඉඩම උතුරට - එල්. ටී. නහීමා ගේ වත්ත, නැගෙනහිරට ඒ කතීජා උම්මා සහ ස්වාමිපුරුෂයාගේ වත්ත, දකුණට - ඒ. එල්. සිත්තිගේ වත්ත සහ බටහිරට - අල් මීනාන් පාර යන මායිම් තුළ පිහිටි පර්චස් පහලවයි දශම හයයි නවය (අ. 0, රූ. 0, පර්. 15.69) ක්, හෙක්ටයාර් 0.0397 ක ඉඩම සහ ඒ තුළ පිහිටි ගොඩනැගිලි සහ සියළු අයිතිවාසිකම් වේ. මෙම ඉඩම පන්දිරිප්පු - 01 ග්‍රාම නිලධාරී කොට්ඨාසයේ පිහිටා ඇත.

ඉහත කී ඉඩම මත ස්ථිර ලෙසම සවි කර ඇති හෝ තබා ඇති සහ කලින් කල ගෙන එනු ලබන සෑම සහ සියළු ආකාරයෙන්ම නිශ්චල යන්ත්‍ර, යන්ත්‍රෝපකරණ, සවි කිරීම්, ඇමුණුම් සහ සේවා සමග වන අතර විදුලිය සැපයීමේ පද්ධති සහ උපකරණ, ජලය සැපයීමේ පද්ධති සහ උපකරණ, විදුලි සංදේශ උපකරණ සහ වායු සමීකරණ උපකරණ ද ඇතුළුව වේ.

අධ්‍යක්ෂ මණ්ඩලයේ නියෝගය පරිදි,

සමාගම් ලේකම්,
නැෂනල් ඩිවලොප්මන්ට් බැන්ක් පීඑල්සී.

12 - 1027

---

**නැෂනල් ඩිවලොප්මන්ට් බැන්ක් පීඑල්සී**

**සංශෝධිත 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය ආපසු අය කර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වැනි වගන්තිය යටතේ අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කර ගැණුනු යෝජනාවයි.**

නැෂනල් ඩිවලොප්මන්ට් බැන්ක් පීඑල්සී හි අධ්‍යක්ෂක මණ්ඩලය විසින් වර්ෂ 2017 ක් වූ නොවැම්බර් මස 28 වැනි දින පැවැත්වූ රැස්වීමකදී පහත සඳහන් වන අයුරු විශේෂයෙන් හා ඒකමතිකව සම්මත කර ගන්නා ලදී.

වැලිගම දරන ස්ථානයේ පදිංචි ශෂිකා එදිරිවීර සහ පත්මසිරි එදිරිවීර (ණයට ගන්නන්) යන අයවළුන් වෙත ප්‍රදානය කරන ලද ණය මුදල් /මූල්‍ය පහසුකම් වෙනුවෙන් සුරක්ෂිතයක් ලෙස ප්‍රසිද්ධ නොතාරිස් බී. ඒ. අනුරුද්ධිකා (මහත්මිය) විසින් ලියා සහතික කරන ලද වර්ෂ 2016.02.26 දිනැති අංක 2576 දරන උකස් බැඳුම්කරය මගින් නැෂනල් ඩිවලොප්මන්ට් බැන්ක් පීඑල්සී (බැංකුව) වෙත උකස් කොට සහ උකස් කරන ලද මෙහි පහත උපලේඛනයේ වඩාත් හොඳින් විස්තර කර ඇති දේපළ සහ පරිශ්‍රය සම්බන්ධයෙන් වූ උකස් බැඳුම්කරය මත අයවිය යුතු මුදල් ගෙවීම ණයට ගන්නන් විසින් පැහැර හැර ඇති හෙයින් ද,

තවද මෙහි උපලේඛනයේ විස්තර කර ඇති දේපළේ සහ පරිශ්‍රයේ නිදහස් අයිතිකරු වන ශෂිකා එදිරිවීර යන අය විසින් මෙම දේපළ ඇය වෙත ප්‍රදානය කළ මදුරපාල එදිරිවීර යන අයගේ එකඟත්වය සහ කැමැත්ත මත සිය නිදහස් අයිතිවාසිකම් සහ බලපුළුවන්කාරකම් එකී බැඳුම්කරය මගින් බැංකුවට උකස්කර ඇති හෙයින් ද,

තවද, වර්ෂ 2017 ක් වූ සැප්තැම්බර් මස 30 වැනි දිනට එකී බැඳුම්කරය යටතේ බැංකුවට රුපියල් දෙකෝටි දාහතර ලක්ෂ පනස්හයදහස් අසූහතරයි ශත නවය (රු. 2,14,056,084.09) ක මුදලක් අයවිය යුතුව හා ණයව පවතින බැවින්ද,

සංශෝධිත 1990 අංක 4 දරන බැංකු මගින් ණය ආපසු අය කර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතින් (ප්‍රධාන පනත) බැංකුවෙහි අධ්‍යක්ෂක මණ්ඩලය වෙත පවරා ඇති බලතල වලට අනුව එකී රුපියල් දෙකෝටි දාහතරලක්ෂ පනස් හය දහස් අසූහතරයි ශත නවයක (රු. 2,14,056,084.09) මුදල සහ විකිණීම කරන අවස්ථාව වන විට නොගෙවා ඉතිරිව ඇති කවර හෝ කොටසක් ද, වර්ෂ 2017 ඔක්තෝබර් මස 01 වැනි දින සිට විකිණීම කරන දින දක්වා එකී බැඳුම්කරය යටතේ රුපියල් විසිපන්ලක්ෂ හැටහයදහස් දෙසිය දෙකයි ශත අසූ එකක (රු. 25,66,202.81) මුල් මුදලක් මත වසරකට සියයට දාහතරයි දශම හතයි පහ (14.75%) ක පොළිය ද, එකී බැඳුම්කරය යටතේ රුපියල් අනූ දෙලක්ෂයක (රු. 92,00,000.00) මුල් මුදලක් මත වසරකට සියයට දාහතරයි දශම හතයි පහ (14.75%) ක පොළිය ද සහ එකී බැඳුම්කරය යටතේ රුපියල් අනූ ලක්ෂ

අසූ අටදහස් හත්සිය අසූ හයයි ශත හැට අට (රු. 90,88,786.68) මුල් මුදලක් මත වසරකට සියයට දහයක (10%) ක පොලිය ද, ප්‍රචාරය සහ විකිණීම සඳහා දරන්නට වන වියදම්ද ප්‍රධාන පනතේ 13 වැනි වගන්තියට අනුව දරා ඇති වෙනත් වියදම් ද මෙතැන් සිට ලබා ගන්නා කිසියම් ගෙවීමක් (එවැන්නක් ඇත්නම්) ඇත්නම් එය ද අඩුකර ආපසු අයකර ගැනීම පිණිස එකී ණය මුදල්/මූල්‍ය පහසුකම් සඳහා සුරක්ෂිතයක් ලෙස ඇති එකී බැඳුම්කරය මගින් බැංකුවට උකස් කර ඇති මෙහි පහත උපලේඛණයේ විස්තර කරනු ලබන දේපල සහ පරිශ්‍රය ඇතුළුව නිදහස් අයිතිවාසිකම් සහ අනෙකුත් අයිතිවාසිකම් , හිමිකම් සහ බලපුළුවන්කාරකම් ද පී.කේ.ඊ. සේනාපති බලයලත් වෙන්දේසිකරු විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණිය යුතු බවට පනතේ ඔවුන් වෙත පවරා ඇති බලතල වලට අනුව බැංකුවේ අධ්‍යක්ෂක මණ්ඩලය විසින් මෙයින් තීරණය කරනු ලැබේ."

### උකස්කර ඇති දේපල පිළිබඳ විස්තරය

දකුණු පළාතේ, මාතර දිස්ත්‍රික්කයේ, වැලිගම නගරසභා සීමාව තුළ වැලිගම දිසා ලේකම් කාර්යාල සීමාවේ වල්ලිවල දකුණ ග්‍රාම නිලධාරී කොට්ඨාශයේ කප්පරතොට හි පිහිටි අයිස්මෝල වත්ත යන නමින් හඳුන්වනු ලබන ඉඩමෙන් සර්වේයර් ජනරාල්වරයා විසින් මැන සාදන ලද පී. පී. මාර අංක 1539 දරන පිඹුර පරිදි මැන බෙදා වෙන් කළ ලොට් 8 දරන ඉඩම් කොටස සහ ඒ තුළ පිහිටි ගොඩනැගිලි, ගහකොළ, පළතුරු ඇතුළු ඒ තුළ පිහිටි සියළු දේද ඇතුළුව මායිම්, එනම් උතුරට : පී. පී. මාර අංක 181, දරන පිඹුරේ ලොට් 70, 69, 66 සහ අයිස්මෝල වත්ත ද, නැගෙනහිරට : පළවන පටුමගෙන් ද, දකුණට : ලොට් 11 සහ බටහිරට : පී. පී. මාර අංක 181 දරන පිඹුරේ ලොට් 9 සහ ලොට් 70 ද යන මෙකී මායිම් තුළ පිහිටි ප්‍රමාණයෙන් හෙක්ටයාර් බිංදුවයි දශම බිංදුවයි හයයි හතරක (හෙක්. 0.064) ඉඩම සහ පී. පී. මාර අංක 1539 දරන පිඹුරේ ලොට් 11 සහ 14 මගින් මාර්ග අයිතියද වේ.

ඉහත සඳහන් ඉඩම මෑතකදී කරන ලද මැනීමකදී පහත පරිදි දැක්වේ.

දකුණු පලාතේ, මාතර දිස්ත්‍රික්කයේ, වැලිගම නගරසභා සීමාව තුළ වැලිගම දිසා ලේකම් කාර්යාල සීමාවේ වල්ලිවල දකුණ ග්‍රාම නිලධාරී කොට්ඨාශයේ කප්පරතොට හි පිහිටි අයිස්මෝල වත්ත යන නමින් හඳුන්වනු ලබන ඉඩමෙන් බලයලත් මිනින්දෝරු ආරියදාස සමරක්කොඩි විසින් මැන සාදන ලද වර්ෂ 2014.09.06 වැනි දින අංක 3120 දරන පිඹුර පරිදි මැන බෙදා වෙන් කළ ලොට් 8 දරන ඉඩම් කොටස සහ ඒ තුළ පිහිටි ගොඩනැගිලි, ගහකොළ, පළතුරු ඇතුළු ඒ තුළ පිහිටි සියළු දේද ඇතුළුව මායිම්, එනම් උතුරට - පී. පී. මාර අංක 181 දරන පිඹුරේ ලොට් 70,69,66 සහ අයිස්මෝල වත්ත ද, නැගෙනහිරට - පළවන පටුමගෙන් ද, දකුණට - ලොට් 11 (පාර) සහ බටහිරට - පී. පී. මාර අංක 181 දරන පිඹුරේ ලොට් 9 සහ ලොට් 70 ද යන මෙකී මායිම් තුළ පිහිටි ප්‍රමාණයෙන් පර්චස් විසිපහයි දශම දෙකයි නවයක (අ. 0, රූ. 0, පර්. 25.29) ඉඩම වේ.

ඒ සමගම ඒ තුළ පිහිටා ඇති ගොඩනැගිලි සහ පරිශ්‍රයට සවි වී හෝ සවි කර හෝ සම්බන්ධ කර ඇති සෑම සහ සියළුම නිශ්චල යන්ත්‍ර සූත්‍ර සහ උපකරණ ඇමුණුම්ද ඇතුළුව විදුලිය සැපයීමේ පද්ධතිය සමග උපකරණ ද , ජලය සැපයීමේ පද්ධතිය සමග උපකරණද , විදුලි සංදේශ පද්ධතිය සමග උපකරණ සහ වායු සමීකරණ පද්ධතිය ද වේ.

අධ්‍යක්ෂ මණ්ඩලයේ නියෝගය පරිදි,

සමාගම් ලේකම්,
නැෂනල් ඩිවලොප්මන්ට් බැන්ක් පීඑල්සී.

12 - 1028

---

### නැෂනල් ඩිවලොප්මන්ට් බැන්ක් පීඑල්සී

1990 අංක 4 දරන බැංකු මගින් ණය ආපසු අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ (සංශෝධිත) 4 වන වගන්තිය යටතේ අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කර ගැණුනු යෝජනාවයි.

නැෂනල් ඩිවලොප්මන්ට් බැන්ක් පීඑල්සී හි අධ්‍යක්ෂ මණ්ඩලය විසින් වර්ෂ 2017ක් වූ ඔක්තෝබර් මස 31 වැනි දින පැවැත්වූ රැස්වීමකදී පහත සඳහන් වන අයුරු විශේෂයෙන් හා ඒකමතිකව සම්මත කර ගන්නා ලදී.

"නැෂනල් ඩිවලොප්මන්ට් බැන්ක් පීඑල්සී (බැංකුව) නමින් ප්‍රසිද්ධ නොතාරිස් බී. එල්. ඩී. එන්. පීරිස් (මහත්මිය) විසින් ලියා සහතික කරන ලද වර්ෂ 2015.12.28 දිනැති අංක 78, 2015.12.28 දිනැති අංක 80 සහ 2016.05.31 දිනැති අංක 110, දරන උකස් බැඳුම්කර යටතේ අයවිය යුතු මුදල් ගෙවීම මාවනැල්ල තම ලියාපදිංචි කාර්යාලය පවත්වාගෙන යනු ලබන ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ 2007 අංක 07 දරන සමාගම් පනත යටතේ නිසි ලෙස සංස්ථාපිත සමාගමක් වන සී. ආර්. ට්‍රේඩිං (ප්‍රයිවට්) ලිමිටඩ්, විජිත ගෘප් ඔෆ් කම්පැනීස් (ප්‍රයිවට්) ලිමිටඩ් සහ මාවනැල්ලෙහි පදිංචි මොහොමඩ් කාසීම් මොහොමඩ් රහුමාතුල්ලා (ණයට ගන්නන්) විසින් පැහැර හැර ඇති හෙයින් ද,

තව ද ඉහත කී සී. ආර්. ට්‍රේඩින් (ප්‍රයිවට්) ලිමිටඩ් විසින් පහත උපලේඛනයේ I කොටසේ විස්තර කරන දේපළ සහ පරිශ්‍රය සඳහා වන සිය නිදහස් අයිතිවාසිකම්, හිමිකම් සහ බල පුළුවන්කාරකම් එකී උකස් බැඳුම්කර යටතේ බැංකුවට උකස්කර ඇති හෙයින් ද,

තව ද ඉහත කී ණයගත් සමාගම්වල තනි අධ්‍යක්ෂකවරයෙකු සහ අධ්‍යක්ෂවරයෙකු ලෙස කටයුතු කරන මාවනැල්ලේ පදිංචි මොහොමඩ් රහුමාතුල්ලා විසින් පහත උපලේඛනයේ 11 කොටසේ විස්තර කරන දේපළ සහ පරිශ්‍රය සඳහා වන සිය නිදහස් අයිතිවාසිකම්, හිමිකම් සහ බලපුළුවන්කාරකම් එකී උකස් බැඳුම්කර යටතේ බැංකුවට උකස්කර ඇති හෙයින් ද,

තව ද වර්ෂ 2017 අගෝස්තු මස 31 වැනි දිනට එකී බැඳුම්කරයන් යටතේ බැංකුවට රුපියල් හතළිස් දෙමිලියන හාරලක්ෂ අසූහත් දහස් හයසිය දහතයි ශත අසූහයක (රු. 42,487,617.86) මුදලක් අයවිය යුතුව හා ණයව පවතින් බැවින් ද,

සංශෝධනය කරන ලද 1990 අංක 4 දරන බැංකු මගින් ණය ආපසු අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනත (ප්‍රධාන පනත) යටතේ බැංකුවෙහි අධ්‍යක්ෂ මණ්ඩලය වෙත පවරා ඇති බලතල වලට අනුව එකී රුපියල් හතළිස් දෙමිලියන හාරලක්ෂ අසූහත් දහස් හයසිය දහතයි ශත අසූහයක (රු. 42,487,617.86) මුදල සහ විකිණීම කරන අවස්ථාව වන විට නොගෙවා ඉතිරිව ඇති කවර හෝ කොටසක් ද වර්ෂ 2017 සැප්තැම්බර් මස 01 වැනි දින සිට විකිණීම කරන දින දක්වා :

i. එකී අංක 80 සහ 110 දරන බැඳුම්කර මගින් සුරැකුම් කරන ලද සහ එකී අංක 80 සහ අංක 110 දරන බැඳුම්කර යටතේ බැංකුවට හිගව පවතින මුදල වන රුපියන් විසිනව මිලියන හාර ලක්ෂ දහත්දහස් හාරසිය අසූහයයි ශත තිස් අටක (රු. 29,417,486.38) මුදල මත වසරකට සියයට විසිඅටක (28%) පොළිය ද,

ii. එකී අංක 78 දරන බැඳුම්කරය මගින් සුරැකුම් කරන ලද සහ එකී අංක 78 දරන බැඳුම්කරය යටතේ බැංකුවට හිඟව පවතින මුදල වන රුපියල් දසමිලියන හත් ලක්ෂ පහළොස්දහස් පන්සිය තිස්හයයි ශත දහනවයක (රු. 10,715,536.19) මුදල මත වසරකට සියයට දහතරයි දශම පහක (14.5%) පොළිය ද,

ප්‍රචාරය සහ විකිණීම සඳහා දරන්නට වන වියදම්ද, ප්‍රධාන පනතේ 4 වැනි වගන්තියට අනුව දරා ඇති වෙනත් වියදම් ද මෙතැන් සිට ලබා ගන්නා කිසියම් ගෙවීමක් (එවැන්නක් ඇත්නම්) ඇත්නම් එයද අඩුකර ආපසු අයකර ගැනීම පිණිස එකී බැඳුම්කරය යටතේ බැංකුවට උකස්කර ඇති මෙහි පහත උපලේඛනයේ විස්තර කර ඇති දේපළ සහ පරිශ්‍රය බලයලත් වෙන්දේසිකරු වන අයි. ඩබ්ලිව්. ජයසූරිය විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණිය යුතු බවට ප්‍රධාන පනතේ ඔවුන් වෙත පවරා ඇති බලතලවලට අනුව බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලය විසින් මෙයින් තීරණය කරනු ලැබේ."

**උකස්කර ඇති දේපළ පිළිබඳ විස්තරය**

I කොටස

සබරගමුව පළාතේ, කෑගල්ල දිස්ත්‍රික්කයේ, බෙලිගල් කෝරළේ, කීරවැලි පත්තුවේ, වරකාපොල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය තුළ සහ ප්‍රාදේශීය සභා කොට්ඨාසය තුළ අඹේපුස්ස ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ, අඹේපුස්ස ගමෙහි පිහිටි "කැටගොඩේවත්ත" නමැති ඉඩමට ආර්. එම්. ඒ. කේ. වීරසිංහ අවසරලත් මානක විසින් මැන සකස් කළ 2013.03.16 දිනැති අංක 2079 දරන පිඹුරේ ලොට් 01 නමැති ඉඩමට මායිම්, උතුරට : අඩි පාර සහ කැටගොඩවත්ත, නැගෙනහිරට : ඔය, දකුණට : 313 පිඹුරේ ලොට් 6 සහ 7 සහ බස්නාහිරට : අඩි පාර ද යන මෙකී මායිම් තුළ පිහිටි රූඩ් දෙකක (අ. 0, රූ. 2, පර්. 0) ඉඩම සහ ඒ තුළ පිහිටි සියල්ල වේ.

ඉහත ඉඩම පහත සඳහන් ඉඩමෙන් බෙද වෙන්කළ කොටසක් වේ.

සබරගමුව පළාතේ, කෑගල්ල දිස්ත්‍රික්කයේ, බෙලිගල් කෝරළේ, කීරවැලි පත්තුවේ, වරකාපොල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය තුළ සහ ප්‍රාදේශීය සභා කොට්ඨාසය තුළ අඹේපුස්ස ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ, අඹේපුස්ස ගමෙහි පිහිටි "කැටගොඩේවත්ත" නමැති ඉඩම ජේ. අළුවිහාරේ අවසරලත් මානකගේ 1950.11.20 දිනැති අංක 313 දරන පිඹුරේ ලොට් 06 සහ 07 සහ කෑගල්ල දිසා අධිකරණ නඩු අංක 6528හි වාර්තාගත ඉඩම නැවත බෙද එම්. එච්. පී. සිරිවර්ධන අවසරලත් මානක විසින් මැන සකස් කළ 1990.09.22 දිනැති අංක 980 දරන පිඹුරේ ලොට් 01 නමැති ඉඩමට මායිම්, උතුරට : ගම්සභා පාර සහ කැටගොඩවත්ත, නැගෙනහිරට : ඔය, දකුණට : 313 පිඹුරේ ලොට් 6 සහ 7 හි ඉතිරි කොටස සහ පිඹුරු අංක 980, ලොට් 2 සහ බස්නාහිරට : ගම්සභා පාර ද යන මෙකී මායිම් තුළ පිහිටි රූඩ් දෙකක (අ. 0, රූ. 2, පර්. 0) ඉඩම සහ ඒ තුළ පිහිටි සියල්ල වේ. මෙම ඉඩම කෑගල්ල ඉඩම් ලියාපදිංචි කිරීමේ කර්යාලයේ E 989/166 දැනට K 05/15හි ලියාපදිංචි කරඇත.

ඉහත කී ඉඩම මත ස්ථිර ලෙසම සවි කර ඇති හෝ තබා ඇති සහ කලින් කල ගෙන එනු ලබන සෑම සහ සියලු ආකාරයකටම නිශ්චල යන්ත්‍ර, යන්ත්‍රෝපකරණ, සවි කිරීම්, ඇමුණුම් සහ සේවා සමග වන අතර විදුලිය සැපයීමේ පද්ධති සහ උපකරණ, ජලය සැපයීමේ පද්ධති සහ උපකරණ, විදුලි සංදේශ උපකරණ සහ වායු සමීකරණ උපකරණ ද ඇතුළුව වේ.

11 කොටස

සබරගමුව පළාතේ, කෑගල්ල දිස්ත්‍රික්කයේ, ගලබඩ කෝරළේ, මැද පත්තුවේ, මාවනැල්ල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය තුළ සහ ප්‍රාදේශීය සභා කොට්ඨාසය තුළ හිඟ්ගොල්ඔය ග්‍රාම නිලධාරි කොට්ඨාසය තුළ මාවන ගමෙහි පිහිටි "හොන්දෙනිගොඩ වත්ත" නමැති ඉඩමට එම්. ආර්. සෙනෙවිරත්න අවසරලත් මානක විසින් මැන සකස් කල 2009.12.03 දිනැති අංක 6001ඒ දරන පිඹුරේ ලොට් 05 නමැති ඉඩමට මායිම්, උතුරට 6001ඒ දරන පිඹුරේ ලොට් 02, නැගෙනහිරට : 6001ඒ දරන පිඹුරේ ලොට් 12 (අඩි 15ක් පළල පාර), දකුණට : 6001ඒ දරන පිඹුරේ ලොට් 06 සහ බස්නාහිරට : 3864 දරන පිඹුරේ ලොට් 02 යන මෙකී මායිම් තුළ පිහිටි පර්චස් එකොළහක (අ. 0, රූ. 0, පර්. 11) ඉඩම සමග 6001ඒ දරන පිඹුරේ ලොට් 12 දරන මාර්ග අයිතිය සහ කොළඹ සිට නුවරට දිවෙන ප්‍රධාන මාර්ගයේ සිට ඇති අඩි 15ක් පළල පාර සහ ඒ තුළ පිහිටි සියල්ල වේ. මෙම ඉඩම කෑගල්ල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ සී 915/35හි ලියාපදිංචි කර ඇත.

සබරගමුව පළාතේ, කෑගල්ල දිස්ත්‍රික්කයේ, ගලබඩ කෝරළේ, මැද පත්තුවේ, මාවනැල්ල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය තුළ සහ ප්‍රාදේශීය සභා කොට්ඨාසය තුළ හිඟ්ගොල්ඔය ග්‍රාම නිලධාරි කොට්ඨාසය තුළ මාවන ගමෙහි පිහිටි "හොන්දෙනිගොඩවත්ත" නමැති ඉඩමට අවසරලත් මානක එම්. ආර්. සෙනවිරත්න විසින් මැන සකස් කළ 2009.12.03 දිනැති අංක 6001ඒ දරන පිඹුරේ ලොට් 06 නමැති ඉඩමට මායිම්, උතුරට : 6001ඒ දරන පිඹුරේ ලොට් 05, නැගෙනහිරට : 6001ඒ දරන පිඹුරේ ලොට් 12 දරන අඩි 15ක් පළළ පාර, දකුණට : කොළඹ සිට නුවරට දිවෙන ප්‍රධාන මාර්ගයේ සිට ඇති අඩි 15ක් පළල පාර සහ බස්නාහිරට : 3864

දරන පිඹුරේ ලොට් 02 යන මෙකී මායිම් තුළ පිහිටි පර්චස් දෙළහක (අ. 0, රූ. 0, පර්. 12) ඉඩම සමග 6001ඒ දරන පිඹුරේ ලොට් 12 දරන මාර්ග අයිතිය සහ කොළඹ සිට නුවරට දිවෙන ප්‍රධාන මාර්ගයේ සිට ඇති අඩි 15ක් පළල පාර සහ ඒ තුළ පිහිටි සියල්ල වේ. මෙම ඉඩම කෑගල්ල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ සී 915/36හි ලියාපදිංචි වී ඇත.

ඉහත කී ඉඩම මත ස්ථිර ලෙසම සවි කර ඇති හෝ තබා ඇති සහ කලින් කල ගෙන එනු ලබන සෑම සහ සියලු ආකාරයකටම නිශ්චල යන්ත්‍ර, යන්ත්‍රෝපකරණ, සවි කිරීම්, ඇමුණුම් සහ සේවා සමග වන අතර විදුලිය සැපයීමේ පද්ධති සහ උපකරණ, ජලය සැපයීමේ පද්ධති සහ උපකරණ, විදුලි සංදේශ උපකරණ සහ වායු සමීකරණ උපකරණ ද ඇතුළුව වේ.

සබරගමුව පළාතේ, කෑගල්ල දිස්ත්‍රික්කයේ, ගලබඩ කෝරළේ, මැද පත්තුවේ, මාවනැල්ල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය තුළ සහ ප්‍රාදේශීය සභා කොට්ඨාසය තුළ හිඟගොල්ඔය ග්‍රාම නිලධාරි කොට්ඨාසය තුළ මාවන ගමෙහි පිහිටි "හොන්දෙනිගොඩවත්ත" නමැති ඉඩමට අවසරලත් මානක එම්. ආර්. සෙනවිරත්න විසින් මැන සකස් කළ 2009.12.03 දිනැති අංක 6001ඒ දරන පිඹුරේ ලොට් 12 දරන ප්‍රවේශ මාර්ගයට මායිම්, උතුරට : 6001ඒ දරන පිඹුරේ ලොට් 01, 07, 08, 09 සහ 06, නැගෙනහිරට : 6001ඒ දරන පිඹුරේ ලොට් 3, 4, 7, 9, 10 සහ 11, දකුණට : මෙම ඉඩමේ ඉතිරි කොටස (3864 පිඹුරේ ලොට් 6 පරිදි) සහ 6001ඒ දරන පිඹුරේ ලොට් 11 සහ බස්නාහිරට : 6001ඒ දරන පිඹුරේ ලොට් 2, 5 සහ 6 යන මෙකී මායිම් තුළ පිහිටි පර්චස් විස්සයි දශම දෙකයි පහක (අ. 0, රූ. 0, පර්. 20.25) ඉඩම.

අධ්‍යක්ෂ මණ්ඩලයේ නියෝගය පරිදි,

සමාගම් ලේකම්,
නැෂනල් ඩිවලොප්මන්ට් බැන්ක් පීඑල්සී.

12 - 1029

---

## මහජන බැංකුව

1986 අංක 32 දරන පනතින් සංශෝධිත 1961 අංක 29 දරන මහජන බැංකු පනතේ අංක 29 D වගන්තිය යටතේ මහජන බැංකුවේ අධ්‍යක්ෂක මණ්ඩලය විසින් 2017.10.26 වැනි දින පහත සඳහන් යෝජනාව ඒකමතිකව සම්මත කරන ලද බැව් මෙයින් නිවේදනය කරනු ලැබේ.

නුවරඑළිය ප්‍රසිද්ධ නොතාරිස් ටී. එම්. තිළිණි අබේනායක මහත්මිය විසින් සහතික කරන ලද 2015.07.06 දිනැති අංක 1082 දරන උකස්කරය ප්‍රකාර ගෙවීම් කිරීම දොන් ඩොනල්ඩ් ඊලියන් මුණවීර (ජාතික හැඳුනුම්පත් අංකය - 691791440V) යන අය විසින් පැහැර හැර ඇති බැවින් එකී අංක 1082 දරන උකස්කරය මත රුපියල් හාර ලක්ෂ හතලිස් හතර දහස් හාරසිය හතලිස් හතරයි ශත හැටක (රු. 444,444.60) මුදලක් සහ රුපියල් විසිනව ලක්ෂ විසි නව දහස් එකසිය තිස් හතරයි ශත අසූ එකක (රු. 2.929,134.81) මුදලක් ද එකී මුදල සඳහා 2016.09.18 වැනි දින සිට සතිපතා බිරිත ප්‍රමුඛ ණය දීමේ අනුපාතය + 5.5% බැගින් වෙන්දේසි දිනය තෙක් තවදුරටත් පොලිය සහ ඉහත කී මහජන බැංකු පනතේ 29 වගන්තිය යටතේ අයකර ගනු ලැබිය හැකි මුදල් සහ ගාස්තු ද සමග අනතුරුව කිසියම් ගෙවීමක් ලැබී ඇත්නම් ඒවා අඩුව එකී ණය මුදල් අයකර ගැනීම සඳහා කොළඹ 5 හැව්ලොක් පාර අංක 290 දරන ලිපිනයේ බලයලත් වෙන්දේසිකරුවන් වන ෂොක්මන් සහ සමරවික්‍රම විසින් එකී අංක 1082 දරන උකස්කරය යටතේ එකී බැංකුවට උකස්කර ඇති දේපල හා පරිශ්‍රයන් ප්‍රසිද්ධ වෙන්දේසියක දී විකිණිය යුතු යැයි 1986 අංක 32 දරන පනතින් සංශෝධිත 1961 අංක 29 දරන මහජන බැංකු පනත යටතේ තමන් වෙත පැවරී ඇති බලතල අනුව මහජන බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලය මෙයින් තීරණය කරයි.

### උපලේඛනය

01.බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, අලුත්කුරු කෝරළේ, රාගම් පත්තුවේ, වත්තල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, වත්තල ප්‍රාදේශීය සභා සීමාව තුළ පිහිටි, අංක 171 ඒ දරන මාටාගොඩ ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ, මාටාගොඩ නමැති ගමේ පිහිටා ඇති, දඹුගහවත්ත සහ කොන්ගහවත්ත නමැති ඉඩම් ඒකාබද්ධ ඉඩමට බලයලත් මිනින්දෝරු කේ. ඊ. ජේ. බී. පෙරේරා මහතා විසින් 2001.11.24 වැනි දින මැන සාදන ලද අංක 7080 දරන පිඹුරේ කැබලි අංක ඩී දරන ඉඩමට උතුරට : කැබලි අංක ඒ සහ කැබලි අංක සී ද, නැගෙනහිරට : ප්‍රාදේශීය සභා ක්‍රීඩා භූමිය ද දකුණට : මේරි ඩයස් යන අය හිමිකම් කියන කැබලි අංක 06 සහ බස්නාහිරට : ටී. ජේ. ආර්. නෙනාකෙයියර් යන අය හිමිකම් කියන කැබලි අංක 07 යන මායිම් තුළ පිහිටි පර්චස් දහයයි දශම හතරයි එකක් (අ. 0, රූ. 0, පර්. 10.41) විශාල බිම් කොටස සහ ඊට අයත් ගොඩනැගිලි, ගහකොළ පළතුරු ආදී සියලු දේත් එකී ඉඩම් කැබැල්ලට යාමට සහ ඊමට වූ සියලුම මාර්ගවල මාර්ග අයිතිය ද සමගය.

මෙම දේපළ ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ අංක එල් 186/33 දරන පත්ඉරුව යටතේ ලියාපදිංචි කර ඇත.

පහත බිම් කොටස්වල මාර්ග අයිතියද සමග වේ.

01. බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, අලුත්කුරු කෝරළේ, රාගම් පත්තුවේ, වත්තල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, වත්තල ප්‍රාදේශීය සභා සීමාව තුළ පිහිටි, අංක 171 ඒ දරන මාටාගොඩ නමැති ගමේ පිහිටා ඇති දඹුගහවත්ත සහ කොන්ගහවත්ත නමැති ඒකාබද්ධ ඉඩමට බලයලත් මිනින්දෝරු කේ. ඊ. ජේ. බී. පෙරේරා මහතා විසින් 2001.11.24 වැනි දින මැන සාදන ලද අංක 7080 දරන පිඹුරේ කැබලි අංක ඒ දරන (අඩි 10 ක් පළල පාර) උතුරට : කැබලි අංක 20 (අඩි 10 ක් පළල පාර) ද නැගෙනහිරට : කැබලි අංක බී සහ කැබලි අංක සී ද, දකුණට : කැබලි අංක ඩී සහ බස්නාහිරට : ඊ. ඒ. පද්මපෙරුම යන අය සහ ටී. ජේ. ආර්. නෙනාකෙයියර් යන අය හිමිකම් කියන කැබලි අංක 07 යන මායිම් තුළ පිහිටි පර්චස් දෙකයි දශම නවයයි පහක් (අ. 0, රූ. 0, පර් 2.95) විශාල බිම් කොටස මාර්ග අයිතිය ද සමගය.

මෙම දේපළ ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ අංක එල් 185/55 දරන පත්ඉරුව යටතේ ලියාපදිංචි කර ඇත.

02. බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, අලුත්කුරු කෝරළේ, රාගම් පත්තුවේ, වත්තල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, වත්තල ප්‍රාදේශීය සභා සීමාව තුළ පිහිටි, අංක 171 ඒ දරන මාටාගොඩ නැමැති ගමේ පිහිටා ඇති දඹුගහවත්ත සහ කොන්ගහවත්ත නමැති ඒකාබද්ධ ඉඩමට බලයලත් මිනින්දෝරු එස්. වික්‍රමසිංහ මහතා විසින් 1986.09.25 වැනි දින මැන සාදන ලද අංක 2685 දරන පිඹුරේ කැබලි අංක 20 දරන (අඩි 20 ක් පළල පාර) උතුරට : අංක 3345 දරන පිඹුරේ කැබලි අංක 09 ද, නැගෙනහිරට : කැබලි අංක 09 ද, දකුණට : කැබලි අංක 08 සහ කැබලි අංක 07 සහ බස්නාහිරට : කැබලි අංක 17 යන මායිම් තුළ පිහිටි පර්චස් තුනයි දශම දෙකක් (අ. 0, රූ. 0, පර්. 03.2) විශාල බිම් කොටස මාර්ග අයිතිය ද සමග ය.

මෙම දේපල ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ අංක එල් 185/56 දරන පත්ඉරුව යටතේ ලියාපදිංචි කර ඇත.

03. බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, අලුත්කුරු කෝරළේ, රාගම් පත්තුවේ, වත්තල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, වත්තල ප්‍රාදේශීය සභා සීමාව තුළ පිහිටි, අංක 171 ඒ දරන මාටාගොඩ නමැති ගමේ පිහිටා ඇති, දඹුගහවත්ත සහ කොන්ගහවත්ත නමැති ඉඩම් ඒකාබද්ධ ඉඩමට බලයලත් මිනින්දෝරු එස්. වික්‍රමසිංහ මහතා විසින් 1986.09.25 වැනි දින මැන සාදන ලද අංක 2685 දරන පිඹුරේ කැබලි අංක 17 දරන (අඩි 20 ක් පළල පාර) උතුරට : කැබලි අංක 10 ද, නැගෙනහිරට : දෝන රොසලිනාහාමි යන අය හිමිකම් කියන ඉඩම සහ කැබලි අංක 10, කැබලි අංක 20 සහ කැබලි අංක 07 සහ අංක 3345 දරන පිඹුරේ කැබලි අංක 10 සහ අංක 2533 දරන පිඹුරේ කැබලි අංක 20 සහ කැබලි අංක 07 ද, දකුණට : අඩි 20 ක් පළල පාර සහ එච්. ඩබ්. ප්‍රනාන්දු මිනින්දෝරු තැනගේ අංක 1866 දරන පිඹුරේ කැබලි අංක 15 සහ බස්නාහිරට : අංක 3345 දරන පිඹුරේ කැබලි අංක 19 සහ අංක 2533 දරන පිඹුරේ කැබලි අංක 19, කැබලි අංක 15, කැබලි අංක 16 සහ කැබලි අංක 18 යන මායිම් තුළ පිහිටි පර්චස් දහහතයි දශම දෙකක් (අ. 0, රූ. 0, පර්. 17.2) විශාල බිම් කොටස මාර්ග අයිතිය ද සමඟය.

මෙම දේපළ ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ අංක එල් 61/3 දරන පත්ඉරුව යටතේ ලියාපදිංචි කර ඇත.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ප්‍රාදේශීය කළමනාකරු.

මහජන බැංකුව,
ප්‍රාදේශීය ප්‍රධාන කාර්යාලය,
අංක 40, උද්‍යාන පාර,
නුවරඑළිය.

12 - 1049

---

## මහජන බැංකුව - දෙහිවල ගාලු පාර ශාඛාව

### 1986 අංක 32 දරන පනතින් සංශෝධිත 1961 අංක 29 දරන මහජන බැංකු පනතේ 29 ඩී වගන්තිය යටතේ යෝජනාව

1986 අංක 32 දරන පනතින් සංශෝධිත 1961 අංක 29 දරන මහජන බැංකු පනතේ 29 ඩී (29D) වගන්තිය යටතේ මහජන බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලය විසින් 2017.10.26 වැනි දින පැවත්වූ එකී අධ්‍යක්ෂ මණ්ඩල රැස්වීමේදී පහත සඳහන් යෝජනාව ඒකමතිකව සම්මත කරන ලද බැව් මෙයින් නිවේදනය කරනු ලැබේ.

එකී අධ්‍යක්ෂ මණ්ඩල රැස්වීමේදී මහජන බැංකුවේ නමට කොළඹ නීතිඥ හා ප්‍රසිද්ධ නොතාරිස් ජේ. එම්. එම්. සී. පී. පෙරේරා මහත්මිය විසින් 2016.06.01 වැනි දින සහතික කරන ලද උකස් ඔප්පු අංක 2891 දරන උකස්කරයන් ප්‍රකාර ගෙවීම,

රාජකරුණා වෛද්‍යතිලක ගෝපාල මුදියන්සේලාගේ සේගු අබ්දුල් ගනී උඩයාර් යන අය විසින් පැහැර හැර ඇති බැවින් ද, එකී බැඳුම්කරය මත රුපියල් අසූඑක් ලක්ෂ හැට හය දහස් හයසිය හැටහයයි ශත හැත්තෑහතරක (රු. 81,66,666.74) මුදල, රුපියල් පහළොස් ලක්ෂයක (රු. 1,500,000.00) මුදල, රුපියල් පහළොස් ලක්ෂයක (රු. 1,500,000.00) මුදල, රුපියල් විසි ලක්ෂයක (රු. 2,000,000.00) මුදල, රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් පහළොස් ලක්ෂයක (රු. 1,500,000) මුදල, රුපියල් පන් ලක්ෂයක (රු. 5,00,000.00) මුදල, රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000.00) මුදල, රුපියල් දස ලක්ෂයක (රු. 1,000,000) මුදල, රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල සහ රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදලක් මහජන බැංකුවට අයවීමට ඇති බැවින් 2017.05.16 වැනි දින සිට 15% බැගින් රුපියල් අසූඑක් ලක්ෂ හැටහයදහස් හයසිය හැටහයයි ශත හැත්තෑහතරක (රු. 81,66,666.74) මුදලකට සහ 2016.12.22 වැනි දින සිට 15% බැගින් රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදලකට සහ 2016.12.22 දින සිට 15% බැගින් රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදලකට සහ 2017.01.06 වැනි දින සිට 15% බැගින් රුපියල් විසි ලක්ෂයක (රු. 20,00,000) මුදලකට සහ 2017.01.09 වැනි දින සිට 15% බැගින් රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදලකට සහ 2017.01.09 වැනි දින සිට 15% බැගින් රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදලකට සහ 2017.01.09 වැනි දින සිට 15% බැගින් රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදලකට සහ 2017.01.09 වැනි දින සිට 15% බැගින් රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදලකට සහ 2017.01.16 වැනි දින සිට 15% බැගින් රුපියල් පහළොස් ලක්ෂයක (රු. 15,00,000) මුදලකට සහ 2017.01.16

වැනි දින සිට 15% බැගින් රුපියල් පහළොස් ලක්ෂයක (රු. 1,500,000) මුදලකට සහ 2017.01.30 වැනි දින සිට 15% බැගින් රුපියල් පන් ලක්ෂයක (රු. 500,000) මුදලකට සහ 2017.03.20 වැනි දින සිට 15% බැගින් රුපියල් පහළොස් ලක්ෂයක (රු. 1,500,000) මුදලකට සහ 2017.03.20 වැනි දින සිට 15% බැගින් රුපියල් දස ලක්ෂයක (රු. 1,000,000) මුදලකට සහ 2017.04.04 වැනි දින සිට 15% බැගින් රුපියල් පහළොස් ලක්ෂයක (රු. 1,500,000) මුදලකට සහ 2017.04.04 වැනි දින සිට 15% බැගින් රුපියල් පහලොස් ලක්ෂයක (රු. 1,500,000) මුදලකට සහ වෙන්දේසි දිනය තෙක් තවදුරටත් පොළිය, විකිණීමේ ගාස්තු සහ අදාල මහජන බැංකු පනතේ 29 එල් වගන්තිය යටතේ අය කර ගත යුතු මුදල් හා ගාස්තු ද සමග අනතුරුව කිසියම් ගෙවීමක් ලැබී ඇත්නම් ඒවා අඩුව එකී රුපියල් අසූඑක් ලක්ෂ හැටහයදහස් හයසියහැටහයක (රු. 81,66,666.74) මුදල, රුපියල් පහලොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් පහලොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් විසි ලක්ෂයක (රු. 20,00,000) මුදල, රුපියල් පහලොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් පහලොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් පහලොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් පහලොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් පහලොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් පහලොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් පන් ලක්ෂයක (රු. 5,00,000) මුදල, රුපියල් පහලොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල, රුපියල් දස ලක්ෂයක (රු. 10,00,000) මුදල, රුපියල් පහලොස් ලක්ෂයක (රු. 15,00,000) මුදල සහ රුපියල් පහලොස් ලක්ෂයක (රු. 15,00,000) මුදලක් ද අයකර ගැනීම සඳහා කොළඹ බලයලත් වෙන්දේසිකාර ඊ. අර්වින් පෙරේරා මහතා විසින් එකී අංක 2891 දරන උකස් බැඳුම්කර යටතේ එකී බැංකුවට උකස් කර ඇති දේපල සහ පරිශ්‍රයන් ප්‍රසිද්ධ වෙන්දේසියකදී විකිණිය යුතු බවට, 1986 අංක : 32 දරන පනතින් සංශෝධිත 1961 අංක 29 දරන මහජන බැංකු පනත යටතේ තමන් වෙත පැවරී ඇති බලතල අනුව මහජන බැංකුවේ අධ්‍යක්ෂක මණ්ඩලය මෙයින් තීරණය කරයි.

### උකස් කරන ලද දේපල පිළිබඳ විස්තර

බස්නාහිර පළාතේ, කොළඹ දිස්ත්‍රික්කයේ, සල්පිටි කෝරළේ, පල්ලේ පත්තුවේ, දෙහිවල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ නැදිමාල ග්‍රාම නිලධාරි වසමේ සහ දෙහිවල-ගල්කිස්ස මහා නගර සභා සීමාව කොට්ඨාස අංක 12- මල්වත්ත ගම දෙහිවල පිහිටි ''කොළඟන් ඕවිට, හැඩිගමගේ කුඹුර, මුහන්දිරමේ ඕවිට හෙවත් මදටියගහඕවිට, හිනිරාවල කුඹුර හෙවත් හීන්නිගෙයිරාලවල'' නැමැති ඉඩමට බලයලත් මිනින්දෝරු අයි. එම්. සී. ප්‍රනාන්දු මයා විසින් 1995.05.01 දින මැන සකස් කරන ලද අංක 1275 පිඹුර ප්‍රකාර ලොට් අංක 3063 දරන කොටසට මායිම්, උතුරට : ලොට් අංක 3062, නැගෙනහිරට : ලොට් අංක 2301 සහ 2302 (වෛද්‍ය පාරේ පිළිවෙලින් වරිපනම් අංක 106/25 සහ 24), දකුණට : ලොට් අංක 3064, බස්නාහිරට : ලොට් අංක 1611 (පාර) යන මෙකී මායිම් තුළ වූ පර්චස් හතයි දශම බිංදුවයි අටක් (අ. 0, රු. 0, පර්. 7.08) ක් විශාල ඉඩම සහ එහි තුළ පිහිටි ගහකොළ, පළතුරු, ගොඩනැගිලි ආදී සියලු දේද වේ.

මෙම දේපල නුගේගොඩ ඉඩම් ලියාපදිංචි කාර්යාලයේ දෙහි. 122/25 හි ලියාපදිංචි කර ඇත.

මහජන බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ප්‍රාදේශීය කළමනාකරු.
(කොළඹ පිටත)

ප්‍රාදේශීය ප්‍රධාන කාර්යාලය,
කොළඹ පිටත, මහජන බැංකුව,
අංක 177ඒ, හයිලෙවල් පාර,
නුගේගොඩ.

12 - 1050

---

### කොමර්ෂල් බෑන්ක් ඔෆ් සිලෝන් පීඑල්සී

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අය කර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ කොමර්ෂල් බෑන්ක් පීඑල්සී හි (ලියාපදිංචි අංකය පී.කිව්. 116) අධ්‍යක්ෂ මණ්ඩලය විසින් නිශ්චය කරනු ලැබූ අභියෝජනාව

ගිණුම් අංක 1141001188
ණය ගිණුම් අංක - 703721, 2017512, 1719859, 164110 සහ 1257653
සිංහලගේ චන්ද්‍රලාල් රූපසිංහ, රූපසිංහ රයිස් මිල්ස්

2017 අගෝස්තු 25 වැනි දින පවත්වන ලද රැස්වීමකදී කොමර්ෂල් බෑන්ක් ඔෆ් සිලෝන් පී.එල්.සී. හි අධ්‍යක්ෂක මණ්ඩලය විශේෂයෙන් හා ඒකඡන්දයෙන් මෙලෙස නිශ්චය කරනු ලබයි.

කෑගල්ල ප්‍රසිද්ධ නොතාරිස් E. M. N. බණ්ඩාර විසින් 2010 නොවැම්බර් 25 වැනි දින සහතික කරන ලද අංක 5963, 2012 ජූනි 26 වැනි දින සහතික කරන ලද අංක 7211 සහ 2013 ඔක්තෝබර් මස 21 වැනි දින සහතික කරන ලද අංක 8114 දරන කොමර්ෂල් බෑන්ක් ඔෆ් සීලෝන් පී.එල්.සී. හි නමට ලියන ලද්දවූද බැඳුම්කරයන් (මෙහි පළමුවන උපලේඛනයේ සවිස්තරව විස්තර කොට ඇති ඉඩම) යටතේ අයවිය යුතු මුදල් ගෙවීම රූපසිංහ රයිස් මිල්ස් යන නමින් ව්‍යාපාරයක් පවත්වාගෙන යනු ලබන සිංහලගේ චන්ද්‍රලාල් රූපසිංහ යන අය ණයකරු සහ උකස්කරු හැටියටත් පැහැර හැර ඇති හෙයින් ද,

කෑගල්ල ප්‍රසිද්ධ නොතාරිස් E. M. N. බණ්ඩාර විසින් 2010 නොවැම්බර් මස 25 වැනි දින සහතික කරන ලද අංක 5965, 2014 මාර්තු මස 24 වැනි දින සහතික කරන ලද අංක 8441 කොමර්ෂල් බෑන්ක් ඔෆ් සීලෝන් පී.එල්.සී. හි නමට ලියන ලද්දවූද බැඳුම්කරයන් (මෙහි දෙවන උපලේඛනයේ සවිස්තරව විස්තර

කොට ඇති ඉඩම) යටතේ අයවිය යුතු මුදල් ගෙවීම රූපසිංහ රයිස් මිල්ස් යන නමින් ව්‍යාපාරයක් පවත්වාගෙන යනු ලබන සිංහලගේ චන්ද්‍රලාල් රූපසිංහ යන අය ණයකරු සහ උකස්කරු හැටියටත් පැහැර හැර ඇති හෙයින් ද,

කෑගල්ල ප්‍රසිද්ධ නොතාරිස් E. M. N. බණ්ඩාර විසින් 2010 නොවැම්බර් මස 25 වැනි දින සහතික කරන ලද අංක 5964, 2012 ජුනි මස 26 වැනි දින සහතික කරන ලද අංක 7212 සහ 2013 ඔක්තෝබර් මස 21 වැනි දින සහතික කරන ලද අංක 8115 සහ 2014 මාර්තු මස 24 වැනි දින සහතික කරන ලද අංක 8442 දරන කොමර්ෂල් බැන්ක් ඔෆ් සීලෝන් පී.එල්.සී. හි නමට ලියන ලද්දවූ ද බැඳුම්කරයන් (මෙහි තෙවන උපලේඛනයේ සවිස්තරව විස්තර කොට ඇති ඉඩම) යටතේ අයවිය යුතු මුදල් ගෙවීම රූපසිංහ රයිස් මිල්ස් යන නමින් ව්‍යාපාරයක් පවත්වාගෙන යනු ලබන සිංහලගේ චන්ද්‍රලාල් රූපසිංහ යන අය ණයකරු සහ උකස්කරු හැටියටත් පැහැර හැර ඇති හෙයින් ද,

කෑගල්ල ප්‍රසිද්ධ නොතාරිස් E. M. N. බණ්ඩාර විසින් 2011 ජූලි 19 වැනි දින සහතික කරන ලද අංක 6531, 2012 ජුනි මස 26 වැනි දින සහතික කරන ලද අංක 7210, 2013 ඔක්තෝබර් මස 21 වැනි දින සහතික කරන ලද අංක 8116 සහ 2014 මාර්තු මස 24 වැනි දින සහතික කරන ලද අංක 8443 දරන කොමර්ෂල් බැන්ක් ඔෆ් සීලෝන් පී.එල්.සී. හි නමට ලියන ලද්දවූ ද බැඳුම්කරයන් (මෙහි හතරවන උපලේඛනයේ සවිස්තරව විස්තර කොට ඇති ඉඩම) යටතේ අයවිය යුතු මුදල් ගෙවීම රූපසිංහ රයිස් මිල්ස් යන නමින් ව්‍යාපාරයක් පවත්වාගෙන යනු ලබන සිංහලගේ චන්ද්‍රලාල් රූපසිංහ යන අය ණයකරු සහ උකස්කරු හැටියට පැහැර හැර ඇති හෙයින් ද,

කෑගල්ල ප්‍රසිද්ධ නොතාරිස් M. S. P. පිරිස් විසින් 2013 ඔක්තෝබර් මස 22 වැනි දින සහතික කරන ලද අංක 130, සහ කෑගල්ල ප්‍රසිද්ධ නොතාරිස් E. M. N. බණ්ඩාර විසින් 2014 මාර්තු මස 24 වැනි දින සහතික කරන ලද අංක 8444 දරන කොමර්ෂල් බැන්ක් ඔෆ් සීලෝන් පී.එල්.සී. හි නමට ලියන ලද්දවූද බැඳුම්කරයන් (මෙහි පස්වන උපලේඛනයේ සවිස්තරව විස්තර කොට ඇති ඉඩම) යටතේ අයවිය යුතු මුදල් ගෙවීම රූපසිංහ රයිස් මිල්ස් යන නමින් ව්‍යාපාරයක් පවත්වාගෙන යනු ලබන සිංහලගේ චන්ද්‍රලාල් රූපසිංහ යන අය ණයකරු සහ උකස්කරු හැටියට පැහැර හැර ඇති හෙයින් ද,

2016 ජුනි මස 09 වැනි දින සහතික කරන ලද අංක POL/141/ME/05 දරන කොමර්ෂල් බැන්ක් ඔෆ් සීලෝන් පී.එල්.සී. හි නමට ලියන ලද්දවූද බැඳුම්කරය (මෙහි හයවන උපලේඛනයේ සවිස්තරව විස්තර කොට යන්ත්‍රසූත්‍ර සහ යන්ත්‍රෝපකරණ) යටතේ අයවිය යුතු මුදල් ගෙවීම රූපසිංහ රයිස් මිල්ස් යන නමින් ව්‍යාපාරයක් පවත්වාගෙන යනු ලබන සිංහලගේ චන්ද්‍රලාල් රූපසිංහ යන අය ණයකරු හැටියට පැහැර හැර ඇති හෙයින් ද,

එකී බැඳුම්කර යටතේ රුපියල් හාරකෝටි හයලක්ෂ අනූඅටදහස් තුන්සිය හැත්තෑ තුනයි ශත හැට තුනක (රු. 40,698,373.63) මුදලක් 2017 ජූලි මස 04 වැනි දින වන විට කොමර්ෂල් බැන්ක් ඔෆ් සීලෝන් පීඑල්සී හට අයවිය යුතුව හා ලැබිය යුතුව ඇති හෙයින් ද එකී රුපියල් හාරකෝටි හයලක්ෂ අනූඅටදහස් තුන්සිය හැත්තෑ තුනයි ශත හැට තුනක (රු. 40,698,373.63) මුදල අයකර ගැනීම සඳහා සහ 2017 ජූලි මස 05 වැනි දින සිට විකිණීමේ දිනය දක්වා කාලයට රු. 7,636,203.94 ක මුදල මත 24% ක වැඩිදුර වාර්ෂික පොළිය රු. 5,117,400.00 ක මුදල මත 13.49 ක වැඩිදුර වාර්ෂික පොළිය රු. 10,800,000.00 සහ 14.5% වැඩිදුර වාර්ෂික පොළිය රු. 14,776,770 PLR + 2.5% වැඩිදුර වාර්ෂික පොළිය සහිතව ප්‍රචාරක කටයුතු සඳහා දරන ලද වියදම් සහ වෙනත් ගාස්තු ඇතුලුව මෙතෙක් ලබාගෙන ඇත්තා වූ යම් ගෙවීම් වෙතොත් ඒවා ද අඩුකොට එකී අංක 5963, 7211, 8114, 8440, 5965, 8441, 5964, 7212, 8115, 8442, 6531, 7210, 8116, 8443, 136, 8444 සහ POL/141/ME/05 දරන බැඳුම්කරයන් මගින් කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී.එල්.සී. හට උකස් කොට ඇත්තාවූ ද මෙහි පළවන, දෙවන, තුන්වන, හතරවන, පස්වන සහ හයවන යන්ත්‍රසූත්‍ර සහ යන්ත්‍රෝපකරණ සහිත උපලේඛනවල සවිස්තරව විස්තර කොට ඇත්තාවූ ද දේපළ හා පරිශ්‍ර කොළඹ 12 හයිෆ්ඩ්‍රොප් වීදියේ අංක 182 හි 3 වැනි මහලේ පිහිටි ත්‍රිවංක සහ සේනානායක වෙන්දේසිකරුවන් හි අනුශුලත් වෙන්දේසිකරු L. B. සේනානායක මහතා ලවා ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණිය යුතුයයි 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතින් පවරා ඇති බලතල යටතේ කෝමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී.එල්.සී. හි අධ්‍යක්ෂ මණ්ඩලය නිශ්චය කරනු ලබයි.

### පළවන උපලේඛනය

වයඹ පළාතේ, කුරුණෑගල දිස්ත්‍රික්කයේ, දඹදෙණි හත්පත්තුවේ, උඩපොළ ඔටෝට කෝරළේ පොල්ගහවෙල ප්‍රාදේශීය සභා සීමාව තුළ පොල්ගහවෙල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, බරහෙළගමුව ග්‍රාම නිලධාරී වසමේ බරහෙළගමුව ගමේ හි පිහිටි 'ගිරා අඹේ ඕවිට දන් වත්ත' නැමැති ඉඩමට බලයලත් මිනින්දෝරු A. A. පද්මදස විසින් 1998 ඔක්තෝබර් මස 05 වැනි දින සාදන ලද අංක 1387 දරන පිඹුරෙන් බෙදා වෙන් කරන ලද ලොට් 1 වශයෙන් දැක්වෙන ඉඩම් කොටසට මායිම් වශයෙන් උතුරට : රොබට් ගුණවර්ධන සහ විමලරත්න හිමිකම් කියන ඉඩමෙන් ද, නැගෙනහිරට : ඇළෙන්ද, දකුණට : ජේ. රාජපක්ෂ සහ පාරට හිමිකම් කියන ඉඩමෙන්ද සහ බස්නාහිරට : ස්වර්ණා සහ S. D. රූපසිංහ හිමිකම් කයන ඉඩමෙන් ද මායිම් වූ එකී අංක 1387 දරන පිඹුර ප්‍රකාරව රූඩ් එකයි පර්චස් විසිඅටක (අ. 0, රූ. 1, පර්. 28) විශාලත්වයෙන් වූ ඉඩම සමග ගොඩනැගිලි, ගසකොළ, වගාවන් සහ එහි පිහිටි සියලුදේත් සමග වන මෙය කුරුණෑගල ඉඩම් ලියාපදිංචි කාර්යාලයේ වෙළුම්/පත්ඉරු T 33/105 යටතේ ලියාපදිංචි කර ඇත.

ඉහත සඳහන් ඉඩම් මෑතක දී මැනීමකින් පසු පහත සඳහන් පරිදි විස්තර කෙරේ.

වයඹ පළාතේ, කුරුණෑගල දිස්ත්‍රික්කයේ, දඹදෙණි හත්පත්තුවේ, උඩපොළ ඔටෝට කෝරළේ පොල්ගහවෙල ප්‍රාදේශීය සභා සීමාව තුළ පොල්ගහවෙල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, බරහෙළගමුව ග්‍රාම නිලධාරී වසමේ බරහෙළගමුව ගමේ හි පිහිටි 'ගිරා අඹේ ඕවිට දන් වත්ත' නැමැති ඉඩමට බලයලත් මිනින්දෝරු A. A. පද්මදස විසින් 2010 නොවැම්බර් මස 24 වැනි දින සාදන ලද අංක 5971 දරන පිඹුරෙන් බෙදා වෙන් කරන ලද ලොට් 1 වශයෙන් දැක්වෙන ඉඩම් කොටසට මායිම් වශයෙන් උතුරට : රොබට් ගුණවර්ධන සහ විමලරත්න හිමිකම් කියන ඉඩමෙන් ද, නැගෙනහිරට : ඇළෙන් ද, දකුණට : ජේ. රාජපක්ෂ සහ පාරට හිමිකම් කියන ඉඩමෙන් ද සහ

බස්නාහිරට : S. C. රූපසිංහ හිමිකම් කියන ඉඩමෙන් ද මායිම් වූ එකී අංක 5971 දරන පිඹුර ප්‍රකාරව රූඩ් එකයි පර්චස් විසිඅටක (අ. 0, රූ. 1, පර්. 28) විශාලත්වයෙන් වූ ඉඩම සමග ගොඩනැගිලි, ගසකොළ, වගාවන් සහ එහි පිහිටි සියළුදේත් සමග වේ.

### දෙවන උපලේඛනය

වයඹ පළාතේ, උතුරු කුරුණෑගල දිස්ත්‍රික්කයේ, දඹදෙණි හත්පත්තුවේ, උඩපොළ ඔටෝම කෝරළේ පොල්ගහවෙල ප්‍රාදේශීය සභා සීමාව තුළ පොල්ගහවෙල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, බරහෙළගමුව ග්‍රාම නිලධාරි වසමේ බරහෙළගමුව ගමේ හි පිහිටි 'මාවතවත්ත ලෙස හැඳින්වෙන ගිරාඅඹේහිටිනාවත්ත' නැමැති ඉඩමට බලයලත් මිනින්දෝරු A. A. පද්මදස විසින් 2006 අප්‍රේල් මස 22 වැනි දින සාදන ලද අංක 4164 දරන පිඹුරෙන් බෙද වෙන් කරන ලද ලොට් 1 වශයෙන් දැක්වෙන ඉඩම් කොටසට මායිම් වශයෙන් උතුරට : අංක 1379 දරන පිඹුරේ ලොට් 1 න් ද, නැගෙනහිරට : අංක 1379 දරන පිඹුරේ ලොට් 2B න්ද, දකුණට : මෙම ඉඩමේ ලොට් 2A ඉතිරි කොටසෙන් ද සහ බස්නාහිරට : අංක 1379 දරන පිඹුරෙන් බෙද වෙන් කරන ලද පාරෙන්ද මායිම් වූ එකී අංක 4164 දරන පිඹුර ප්‍රකාරව පර්චස් හතරයි දශම අටයි බිංදුවක (අ. 0, රූ. 0, පර්. 4.80) විශාලත්වයෙන් වූ ඉඩම සමග ගොඩනැගිලි, ගසකොළ, වගාවන් සහ එහි පිහිටි සියලුදේත් සමග වන මෙය කුරුණෑගල ඉඩම් ලියාපදිංචි කාර්යාලයේ වෙළුම/පත්‍රිරු F 1129/224 යටතේ ලියාපදිංචි කර ඇත.

### තුන්වන උපලේඛනය

වයඹ පළාතේ, කුරුණෑගල දිස්ත්‍රික්කයේ, දඹදෙණි හත්පත්තුවේ, උඩපොළ ඔටෝම කෝරළේ පොල්ගහවෙල ප්‍රාදේශීය සභා සීමාව තුළ පොල්ගහවෙල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ බරහෙළගමුව ග්‍රාම නිලධාරි වසමේ බරහෙළගමුව ගමේ හි පිහිටි 'ගිරාඅඹේහිටිනාවත්ත' නැමැති ඉඩමට බලයලත් මිනින්දෝරු A. A. පද්මදස විසින් 1998 සැප්තැම්බර් මස 24 වැනි දින සාදන ලද අංක 1379 දරන පිඹුරෙන් බෙද වෙන් කරන ලද ලොට් 1 වශයෙන් දැක්වෙන ඉඩම් කොටසට මායිම් වශයෙන් උතුරට : ස්වර්ණා සහ R.P. රාජපක්ෂ හිමිකම් කියන ඉඩමෙන් ද, නැගෙනහිරට : නිළමේ හිමිකම් කියන ඉඩමෙන් ද, දකුණට : ලොට් 2A සහ 2B වලින්ද සහ බස්නාහිරට : අංක 1379 දරන පිඹුරේ ලොට් 3 හි අඩි 8ක පළල පාරෙන් ද මායිම් වූ එකී අංක 1379 දරන පිඹුර ප්‍රකාරව පර්චස් විසි හයයි දශම එකයි හතක (අ. 0, රූ. 0, පර්. 26.17) විශාලත්වයෙන් වූ ඉඩම සමග ගොඩනැගිලි, ගසකොළ, වගාවන් සහ එහි පිහිටි සියලුදේත් සමග වන මෙය කුරුණෑගල ඉඩම් ලියාපදිංචි කාර්යාලයේ වෙළුම්/පත්‍රිරු F 1094/94 යටතේ ලියාපදිංචි කර ඇත.

### හතරවන උපලේඛනය

වයඹ පළාතේ, කුරුණෑගල දිස්ත්‍රික්කයේ, දඹදෙණි හත්පත්තුවේ, උඩපොළ ඔටෝට කෝරළේ පොල්ගහවෙල ප්‍රාදේශීය සභා සීමාව තුළ පොල්ගහවෙල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ බරහෙළගමුව ග්‍රාම නිලධාරි වසමේ බරහෙළගමුව ගමේ හි පිහිටි 'බෙලිගහමුලවත්ත' නැමැති ඉඩමට බලයලත් මිනින්දෝරු A. A. පද්මදස විසින් 2010 දෙසැම්බර් මස 13 වැනි දින සාදන ලද අංක 5986 දරන පිඹුරෙන් බෙද වෙන් කරන ලද ලොට් 1 වශයෙන් දැක්වෙන ඉඩම් කොටසට මායිම් වශයෙන් උතුරට : පාරෙන් ද, නැගෙනහිරට : සෝරත හිමි හිමිකම් කියන ගල්කොටුවේවත්තෙන් ද, දකුණට : බලයලත් මිනින්දෝරු A. A. පද්මදස විසින් මැන සාදන ලද අංක 5261 දරන පිඹුරේ ලොට් 1න්ද සහ බස්නාහිරට : ගිරාඅඹේ සිට බරහෙළගමුව දක්වා දිවෙන ප්‍රාදේශීය සභා පාරෙන් ද මායිම් වූ එකී අංක 5986 දරන පිඹුර ප්‍රාකාරව පර්චස් දහතුනයි දශම පහයි හතරක (අ. 0, රූ. 0, පර්. 13.54) ක විශාලත්වයෙන් වූ ඉඩම සමග ගොඩනැගිලි, ගසකොළ, වගාවන් සහ එහි පිහිටි සියලුදේත් සමග වන මෙයි කුරුණෑගල ඉඩම් ලියාපදිංචි කාර්යාලයේ වෙළුම/පත්‍රිරු F 1025/49 යටතේ ලියාපදිංචි කර ඇත.

### පස්වන උපලේඛනය

වයඹ පළාතේ, කුරුණෑගල දිස්ත්‍රික්කයේ, දඹදෙණි හත්පත්තුවේ, උඩපොළ ඔටෝට කෝරළේ පොල්ගහවෙල ප්‍රාදේශීය සභා සීමාව තුළ පොල්ගහවෙල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ බරහෙළගමුව ග්‍රාම නිලධාරි වසමේ බරහෙළගමුව ගමේ හි පිහිටි 'හිටිනාවත්ත, කෝන්ගහමුලවත්ත, දිවුල්ගහමුලවත්ත සහ පින්නගොල්ලේ කොන්ගහමුලවත්ත' නැමැති ඉඩමට බලයලත් මිනින්දෝරු A. A. පද්මදස විසින් 1998 මාර්තු මස 30 වැනි දින සාදන ලද අංක 1228 දරන පිඹුරෙන් බෙද වෙන් කරන ලද ලොට් 1 වශයෙන් දැක්වෙන ඉඩම් කොටසට මායිම් වශයෙන් උතුරට : I. P. අමරදසගේ ඉඩමෙන් ද , නැගෙනහිරට : බලයලත් මිනින්දෝරු W. D. B. රෙජිනොල්ඩ් විසින් මැන සාදන ලද අංක 628 දරන පිඹුරේ ලොට් 2B සහ 2C සහ M. P. ජයසිංහගේ ඉඩමෙන් ද, දකුණට ෑ ලොට් 2 (අංක 628 දරන පිඹුරේ ලොට් 2C සහ අංක 1228 දරන පිඹුරේ වඩාත් නිවැරදි ලොට් 2) න් ද සහ බස්නාහිරට ෑ තිසේරාගේ ඉඩමෙන් ද මායිම් වූ එකී අංක 1228 දරන පිඹුර ප්‍රකාරව රූඩ් එකයි පර්චස් අටක (අ. 0, රූ. 1, පර්. 8) විශාලත්වයෙන් වූ ඉඩම සමග ගොඩනැගිලි, ගසකොළ, වගාවන් සහ එහි පිහිටි සියලුදේත් සමග වන මෙය කුරණෑගල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ වෙළුම/පත්‍රිරු T 28/69 යටතේ ලියාපදිංචි කර ඇත.

වයඹ පළාතේ, කුරුණෑගල දිස්ත්‍රික්කයේ, දඹදෙණි හත්පත්තුවේ, උඩපොළ ඔටෝට කෝරළේ පොල්ගහවෙල ප්‍රාදේශීය සභා සීමාව තුළ පොල්ගහවෙල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ බරහෙළගමුව ග්‍රාම නිලධාරි වසමේ බරහෙළගමුව ගමේ හි පිහිටි 'හිටිනාවත්ත, කෝන්ගහමුලවත්ත, දිවුල්ගහමුලවත්ත සහ පින්නගොල්ලේ කොන්ගහමුලවත්ත' නැමැති ඉඩමට බලයලත් මිනින්දෝරු A. A. පද්මදස විසින් 1998 මාර්තු මස 30 වැනි දින සාදන ලද අංක 1228 දරන පිඹුරෙන් බෙද වෙන් කරන ලද ලොට් 2 වශයෙන් දැක්වෙන ඉඩම් කොටසට මායිම් වශයෙන් උතුරට ෑ අංක 1228 දරන පිඹුරේ ලොට් 1න් ද, නැගෙනහිරට ෑ අංක 628 දරන පිඹුරේ ලොට් 2B න් ද, දකුණට ෑ ගම්සභා පාරෙන් ද සහ බස්නාහිරට ෑ අඩි පාර (දෙවට) සහ තිසේරාගේ ඉඩමෙන් ද මායිම් වූ එකී අංක 1228 දරන පිඹුර ප්‍රකාරව රූඩ් එකයි පර්චස් අටක (අ. 0, රූ. 1, පර්. 8) විශාලත්වයෙන් වූ ඉඩම සමග ගොඩනැගිලි, ගසකොළ, වගාවන් සහ එහි පිහිටි සියලු දේත් සමග වන මෙය කුරුණෑගල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ වෙළුම/පත්‍රිරු T 28/70 යටතේ ලියාපදිංචි කර ඇත.

හයවන උපලේඛනය

1 ස්ටීම් රයිස් මිලින් ප්ලාන්ට් - 65 XM - 189
අනුක්‍රමික අංකය C 201404148
ධාරිතාව - 15,000 kg/8hr
නිෂ්පාදිත රට - චීනය
නිෂ්පාදිත වර්ෂය - 2014
වටිනාකම - රු. මිලියන 15

2 වයිට් රෝ රයිස් මිලින් ප්ලාන්ට්
අනුක්‍රමික අංකය නැත
ධාරිතාව - 27 Mt/8 hr
නිෂ්පාදිත රට - චීනය
මිළදී ගත් වර්ෂය - 2014
වටිනාකම - රු. මිලියන 11

3 වර්ටිකල් ටියුබ් බොයිලර්
අනුක්‍රමික අංකය නැත
ධාරිතාව - 3000 L
නිෂ්පාදිත රට - දේශීය
නිෂ්පාදිත වර්ෂය - 2009
වටිනාකම - රු. මිලියන 0.35

4 වෙයිට් බ්‍රිජ්
අනුක්‍රමික අංකය - NC 00714220
ධාරිතාව - 40 ටොන්ස්
නිෂ්පාදිත වර්ෂය - 2014
වටිනාකම - රු. මිලියන 1.5
විදේශ ආනයනික කොටස් මෙරට සමාගමක් විසින් සවිකරන ලදී.

5 රයිස් ෆ්ලර් මේකින් ප්ලාන්ට්
අනුක්‍රමික අංකය - නැත
ලක්ෂණ 2 නම්බර්ස් ඔෆ් ග්‍රයින්ඩින් මැෂින්, සර්වර් විත් සයික්ලොන්
3 නම්බර්ස් ඔෆ් මෙකැනිකල් හලර්ස් ඇන්ඩ් පැනල් බෝඩ්
නිෂ්පාදිත රට - ඉන්දියාව
වටිනාකම - රු. මිලියන 1.15
මිළදීගත් වර්ෂය - 2013

රංජනී ගමගේ මිය,
සමාගම් ලේකම්.

2017 අගෝස්තු මස 25 වැනි දින.

12 - 1059

---

## පැන් ඒෂියා බැන්කිං කෝපරේෂන් පීඑල්සී - මොරටුව ශාඛාව

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ පැන් ඒෂියා බැන්කිං කෝපරේෂන් පීඑල්සී හි අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කර ගන්නා ලද යෝජනා සම්මුතිය පිළිබඳ දැන්වීමයි.

ණුදෙනුකරුගේ නම : ඉසුරු ට්‍රැවල්ස් ඇන්ඩ් ටුවර්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්

පැන් ඒෂියා බැන්කිං කෝපරේෂන් පීඑල්සී හි අධ්‍යක්ෂක මණ්ඩලය විසින් වර්ෂ 2017.11.29 වැනි දින පවත්වන ලද රැස්වීමක දී විශේෂයෙන් සහ ඒකච්ඡන්දයෙන් පහත සඳහන් පරිදි යෝජනා සම්මත කරගන්නා ලදී.

එනම්, ඉහත කී ඉසුරු ට්‍රැවල්ස් ඇන්ඩ් ටුවර්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් යන අය ''බන්ධනදායී'' ලෙස ද සහ සුවඳ ආරච්චිගේ සනත් කුමාර (බන්ධනදායී සමාගමෙහි අධ්‍යක්ෂක වන) යන අය ''උකස්කරු'' ලෙස ද ලියාපදිංචි අංක පී. කිව්. 48 දරන පැන් ඒෂියා බැන්කිං කෝපරේෂන් පීඑල්සි නමට කොළඹ ප්‍රසිද්ධ නොතාරිස් පී. එස්. එන්. රාජකරුණා විසින් සහතික කරන ලද වර්ෂ 2010.07.09 වැනි දිනැති අංක 4551 දරන ප්‍රාථමික වල උකස්කරය, වර්ෂ 2013.11.20 වැනි දිනැති අංක 5214 දරන ද්විතීයික වල උකස්කරය සහ කොළඹ ප්‍රසිද්ධ නොතාරිස් ආර්. ආර්. එල්. සී. රණසිංහ විසින් සහතික කරන ලද වර්ෂ 2013.11.20 වැනි දිනැති අංක 442 දරන ප්‍රාථමික වල උකස්කරය, වර්ෂ 2016.10.10 වැනි දිනැති අංක 1017 දරන ද්විතීයික වල උකස්කරයන් මත ලැබිය යුතු මුදල් ගෙවීම පැහැර හැර ඇති හෙයින් ද,

ඉහත කී පැන් ඒෂියා බැන්කිං කෝපරේෂන් පීඑල්සී (මෙහි මින් මතුවට ''බැංකුව'') යනුවෙන් හඳුන්වනු ලබන) වෙත එකී අංක 4551, 5214, 442 සහ 1017 දරන උකස්කරයන් මත,

1. වර්ෂ 2017.10.31 වැනි දින දක්වා මුල් මුදල සහ පොලිය වශයෙන් අයවිය යුතු රුපියල් දහතුන් මිලියන තුන් දහස් හැට අටයි ශත තිස් නවය (රු. 13,003,068/39) ක මුදලක් ද , සහ වර්ෂ 2017.11.01 වැනි දින සිට රුපියල් දහතුන් මිලියන තුන් දහස් හැට අටයි ශත තිස් නවය (රු. 13,003,068/39) ක් දක්වා වූ මුදල මත වර්ෂයකට 29% ක පොලිය ද,

2. වර්ෂ 2017.11.14 වන දින දක්වා මුල් මුදල සහ පොලිය වශයෙන් අයවිය යුතු රුපියල් දෙමිලියන අට ලක්ෂ හත්සිය විසි හතයි ශත හැට අටක (රු. 2,800,727.68) මුදලක් ද සහ වර්ෂ 2017.11.15 වැනි දින සිට රුපියල් දෙමිලියන දෙලක්ෂ තිස් හතර දහස් නවසිය හැත්තෑ අටයි ශත අසූ හතරක් (රු. 2,234,978/84) දක්වා වූ මුදල මත වර්ෂයකට 20% ක පොලිය ද,

ඉහත කී බන්ධනදායී/උකස්කරුගෙන් බැංකුව වෙත අයවිය යුතුව සහ ලැබිය යුතුව තිබෙන හෙයින් ද,

පහත සඳහන් පරිදි යෝජනා සම්මත කරගනු ලැබේ. ඒ කෙසේද යත්,

ඉහත කී උකස්කරයන් මත අයවිය යුතු එකී රුපියල් පහළොස් මිලියන අට ලක්ෂ තුන් දහස් හත්සිය අනූ හයයි ශත හතක (රු. 15,803,796.07) මුලු මුදල සහ ඉහත සඳහන් දිනයේ සිට වෙන්දේසියේ දිනය දක්වා ඉහත සඳහන් කර ඇති ආකාරයට පොලිය ද, 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 13 වැනි වගන්තිය යටතේ අයකර ගත හැකි ගාස්තු සහ මුදල් ද (යම් මුදලක් ගෙවා ඇතොත් එකී මුදල අඩු කිරීමෙන් පසු) අය කර ගැනීම සඳහා මෙහි උපලේඛනයෙහි වඩා සම්පූර්ණ ලෙස විස්තර කර ඇති, බැංකුව වෙත උකස්කර ඇති දේපල ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම සඳහා 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වැනි වගන්තිය ප්‍රකාරව මහනුවර, මාවිල්මඩ, දුටුගැමුණු මාවත, අංක. 369/1 හි පදිංචි බලයලත් වෙන්දේසිකරු අයි. ඩබ්ලිව්. ජයසූරිය වෙත අධිකාරය සහ බලය පවරන යෝජනාවක් මෙයින් සම්මත කර ගනු ලැබේ.

### උපලේඛනය

1. බස්නාහිර පළාතේ, (කොළඹ ලියාපදිංචි කොට්ඨාසය තුළ) කොළඹ දිස්ත්‍රික්කයේ, හේවාගම් කෝරළයේ, අධිකාරී පත්තුවේ, මුල්ලේරියාව - කොටිකාවත්ත ප්‍රාදේශීය සභා සීමාවේ, කොටිකාවත්ත ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, අංක. 503 ඒ මුල්ලේරියාව ග්‍රාම නිලධාරී කොට්ඨාසයේ, හිඹුටාන පිහිටි, කුමාර මාවත, වරිපනම් අංක 70 ලෙස අංක 452/7 ලෙස හඳුන්වනු ලබන, කැබෙල්ලගහවත්ත, මිල්ලගහවත්ත සහ කෝස්ගහවත්ත නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු සාලිය වික්‍රමසිංහ මහතා විසින් මැන සාදන ලද වර්ෂ 2006.11.25 වැනි දිනැති අංක. 9345ඒ දරන පිඹුරෙහි දැක්වෙන ලොට් ඉසෙඩ් දරන (බලයලත් මිනින්දෝරු සාලිය වික්‍රමසිංහ විසින් මැන සාදන ලද වර්ෂ 2006.11.25 දිනැති අංක 9345 දරන පිඹුරෙහි ලොට් ඒ හි කැබලි වෙන් කිරීමක් වන) බිම් කැබැල්ලට මායිම් : උතුරට : අංක 9345 දරන පිඹුරේ දැක්වෙන ලොට් එක්ස් (වඩාත් නිවැරදිව අංක 9345 ඒ පිඹුර) ද , නැගෙනහිරට : පාරද, දකුණට : අංක 1916 දරන පිඹුරේ දැක්වෙන කැබලි අංක 2 ද, බස්නාහිරට : අංක 9345 ඒ දරන පිඹුරේ ලොට් වයි ද යන මෙකී මායිම් තුළ පිහිටි ප්‍රමාණයෙන් පර්චස් හයයි දශම පහයි බිංදුවක් (අ. 0, රූ. 0, පර්. 6.50) විශාල බිම සහ ඒ තුළ පිහිටි ගහකොළ පළතුරු ආදී සියලු දේ ද වේ. මෙම ඉඩම කොළඹ ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ වෙලුම්/පත්‍ඉරු සහ F 61/108 සහ 132 හි ලියාපදිංචි කර ඇත.

2.බස්නාහිර පළාතේ, කොළඹ දිස්ත්‍රික්කයේ, සල්පිටි කෝරළයේ, පල්ලේ පත්තුවේ ශ්‍රී ජයවර්ධනපුර කෝට්ටේ මහ නගර සභා සීමාව තුළ සහ ශ්‍රී ජයවර්ධනපුර කෝට්ටේ ප්‍රාදේශීය ලේකම් කාර්යාලයට අයත් අංක 521/ඒ ඇතුල්කෝට්ටේ ග්‍රාම නිලධාරී වසම තුල ඇතුල්කෝට්ටේ උස්වත්ත මාවතේ වරිපනම් අංක 37/15 දරන ස්ථානයේ පිහිටි, බෝගහවත්ත, බෝගහකුඹුර, ඇලගොඩ කුඹුර සහ කමත ගොඩැල්ලවත්ත නමැති ඉඩමෙන් බෙදා වෙන් කරන ලද ඉඩමක් වූ බලයලත් මිනින්දෝරු එම්. එල්. එන්. පෙරේරා මහතා විසින් මැන සාදන ලද අංක 7426 සහ වර්ෂ 2013.03.04 වැනි දින දරන පිඹුර ප්‍රකාර ලොට් ඒ (මෙය බලයලත් මිනින්දෝරු පී. පීලික්ස් ඩයස් මහතා විසින් මැන සාදන ලද අංක 34 ඒ සහ වර්ෂ 1995/11/19 වැනි දින දරන පිඹුර ප්‍රකාර ලොට් 15ඒ 2 දරන බිම් කොටස නැවත මැනීමකි.) දරන බිම් කොටසට මායිම් : උතුරට : අංක 924 දරන පිඹුරේ ලොට් 14 ද, නැගෙනහිරට : අංක 34 දරන පිඹුරේ ලොට් 15බී ද, දකුණට : අඩි 20.0 ක් පළල පාර සහ බස්නාහිරට : අංක 34 ඒ පිඹුරේ ලොට් 15 ඒ 1 ද යන මෙකී මායිම් තුළ පිහිටි පර්චස් හතයි දශම හතරයි අට (අ. 0, රූ. 0, පර්. 7.48) ක් විශාල සම්පූර්ණ බිම් කොටස සහ ඒ තුළ පිහිටි ගහකොළ පළතුරු ගොඩනැගිලි යනාදී සියලු දේ වේ.

ඉහත කී ලොට් ඒ මෙහි පහත දැක්වෙන ඉඩමෙහි නැවත මැනීමක් වේ.

බස්නාහිර පළාතේ, (කොළඹ ලියාපදිංචි කොට්ඨාසය තුළ) කොළඹ දිස්ත්‍රික්කයේ, සල්පිටි කෝරළයේ, පල්ලේ පත්තුවේ ශ්‍රී ජයවර්ධනපුර කෝට්ටේ මහ නගර සභා සීමාව තුළ සහ ශ්‍රී ජයවර්ධනපුර කෝට්ටේ ප්‍රාදේශීය ලේකම් කාර්යාලයට අයත් අංක 521/ඒ ඇතුල්කෝට්ටේ බටහිර ග්‍රාම නිලධාරී වසම තුළ ඇතුල්කෝට්ටේ පිහිටි, බෝගහවත්ත, බෝගහකුඹුර, ඇලගොඩ කුඹුර සහ කමත ගොඩැල්ලවත්ත නමැති ඉඩම මැන බලයලත් මිනින්දෝරු පී. පීලික්ස් ඩයස් විසින් සාදන ලද අංක 34 ඒ දරන වර්ෂ 1995.11.19 වැනි දින දරන පිඹුර ප්‍රකාර ලොට් 15ඒ 2 නමැති බිම් කොටසට මායිම් : උතුරට : බලයලත් මිනින්දෝරු ඩී. ඒ. එෆ්. යාපා විසින් මැන සාදන ලද වර්ෂ 1980.12.23 දිනැති අංක 924 දරන පිඹුරේ ලොට් 14 ද, නැගෙනහිරට : අංක 34 දරන පිඹුරේ ලොට් 15 බී ද, දකුණට : අඩි 20.0 ක් පළල පාර සහ බස්නාහිරට : ලොට් 15ඒ 1 ද යන මෙකී මායිම් තුළ පිහිටි පර්චස් හතයි දශම හතරයි අට (අ. 0, රූ. 0, පර්. 7.48) ක් විශාල සම්පූර්ණ බිම් කොටස සහ ඒ තුළ පිහිටි ගහකොළ පළතුරු ගොඩනැගිලි යනාදී සියලු දේ වේ. මෙම ඉඩම දෙල්කඳ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ වෙලුම්/පත්‍ඉරු A 321/25 හි ලියාපදිංචි කර ඇත.

අධ්‍යක්ෂක මණ්ඩලයේ අණ පරිදි,

දේවිකා හල්වතුර,
කළමනාකාරිණී - ණය අයකර ගැනීම්.

12 - 1082

---

### පෑන් ඒෂියා බෑන්කිං කෝපරේෂන් පීඑල්සී- ගාල්ල ශාඛාව

### 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ පෑන් ඒෂියා බෑන්කිං කෝපරේෂන් පීඑල්සීහි අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කරගන්නා ලද යෝජනා සම්මුතිය පිළිබඳ දැන්වීමයි

ගණුදෙනුකරුවන් ගේ නම : එදිනාදුර හරේන්ද්‍ර ද සිල්වා සහ දිසානායක මුදියන්සේලාගේ රෝහිණී ජයකොඩි

පැන් ඒෂියා බැන්කිං කෝපරේෂන් පීඑල්සී හි අධ්‍යක්ෂක මණ්ඩලය විසින් වර්ෂ 2017 ක් වූ නොවැම්බර් මස 29 වැනි දින පවත්වන ලද රැස්වීමක දී විශේෂයෙන් සහ ඒකච්ඡන්දයෙන් පහත සඳහන් පරිදි යෝජනා සම්මත කරගන්නා ලදී.

එනම්, ඉහත කී එදිනාදුර හරේන්ද්‍ර ද සිල්වා සහ දිසානායක මුදියන්සේලාගේ රෝහිණී ජයකොඩි යන අය "බන්ධනදැයින්/උකස්කරුවන්" ලෙස ලියාපදිංචි අංක පී.කිව්. 48 දරන පැන් ඒෂියා බැන්කිං කෝපරේෂන් පීඑල්සී නමට ගාල්ල ප්‍රසිද්ධ නොතාරිස් කේ.ජේ.ටී.එල්. නන්දන විසින් සහතික කරන ලද වර්ෂ 2016.06.13 වැනි දිනැති අංක 11140 දරන ප්‍රාථමික චල උකස්කරය සහ ගාල්ල ප්‍රසිද්ධ නොතාරිස් කේ.එච්.එම්.එම්.කේ. කාරියවසම් විසින් සහතික කරන ලද වර්ෂ 2017.06.21 වැනි දිනැති අංක 122 දරන ද්විතීයික චල උකස්කරය මත ලැබිය යුතු මුදල් ගෙවීම පැහැර හැර ඇති හෙයින් ද,

ඉහත කී පැන් ඒෂියා බැන්කිං කෝපරේෂන් පීඑල්සී (මෙහි මින් මතුවට "බැංකුව" යනුවෙන් හඳුන්වනු ලබන) වෙත එකී අංක 11140 සහ 122 දරන උකස්කරයන් මත,

වර්ෂ 2017.11.01 වැනි දින දක්වා මුල් මුදල සහ පොළිය වශයෙන් අයවිය යුතු රුපියල් හතලිස් හය ලක්ෂ එකොළොස් දහස් පන්සියයි ශත තිස් තුන (රු.4,611,500.33) ක මුදලක් ද, සහ වර්ෂ 2017.11.02 වැනි දින සිට රුපියල් හතලිස් හතර ලක්ෂ තිස් නව දහස් හයසිය අටයි ශත විස්ස (රු. 4,439,608.20) ක් දක්වා වූ මුදල මත වර්ෂයකට 20% ක පොළිය ද, ඉහත කී බන්ධනදැයින්/උකස්කරුවන්ගෙන් බැංකුව වෙත අයවිය යුතුව සහ ලැබිය යුතුව තිබෙන හෙයින් ද,

පහත සඳහන් පරිදි යෝජනා සම්මත කරගනු ලැබේ. ඒ කෙසේද යත්,

ඉහත කී උකස්කරයන් මත අයවිය යුතු එකී රුපියල් හතලිස් හය ලක්ෂ එකොළොස් දහස් පන්සියයි ශත තිස් තුන (රු.4,611,500.33) ක මුදල සහ ඉහත සඳහන් දිනයේ සිට වෙන්දේසියේ දිනය දක්වා ඉහත සඳහන් කර ඇති ආකාරයට පොළිය ද, 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 13 වන වගන්තිය යටතේ අයකර ගත හැකි ගාස්තු සහ මුදල් ද (යම් මුදලක් ගෙවා ඇතොත් එකී මුදල අඩු කිරීමෙන් පසු) අයකර ගැනීම සඳහා මෙහි උපලේඛනයේ වඩා සම්පූර්ණ ලෙස විස්තර කර ඇති බැංකුව වෙත උකස් කර ඇති දේපල, ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම සඳහා 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය ප්‍රකාරව කොළොන්නාව, විහාර මාවත, අංක 182/3 (50/3) හි පදිංචි බලයලත් වෙන්දේසිකරු තුසිත් කරුණාරත්න වෙත අධිකාරය සහ බලය පවරන යෝජනාවක් මෙයින් සම්මත කර ගනු ලැබේ.

### උපලේඛනය

දකුණු පළාතේ, ගාල්ල දිස්ත්‍රික්කයේ, බෝපේ පෝද්දල ප්‍රාදේශීය සභා සීමාවේ සහ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය තුළ අංක 120 වටරැක නැගෙනහිර ග්‍රාම නිලධාරී කොට්ඨාසයේ, වටරැක පිහිටි කහටගහවත්ත හෙවත් කැටකැලගහවත්ත හෙවත් රතුගහවත්ත සහ එගොඩවත්ත උඩුමුල්ල හෙවත් උඩුමුල්ලේ කුඹුර බෙදූ ලොට් 01 නැමැති ඉඩමට බලයලත් මිනින්දෝරු කුසුමන් සිරිවර්ධන විසින් මැන සාදන ලද වර්ෂ 2007.04.08 වැනි දිනැති අංක 341/2007 දරන පිඹුරෙහි දක්වෙන ලොට් 25 දරන ඉඩමට මායිම්, උතුරින් : මෙම ඉඩමේම ලොට් 28 දරන පාරට වෙන් කරන ලද කොටස ද, නැගෙනහිරින් : මෙම ඉඩමේම ලොට් 26 ද, දකුණින් : ඇල සහ ගොඩවත්ත හෙවත් වේල්ලවත්ත ද, බස්නාහිරින් : මෙම ඉඩමේම ලොට් 24 ද මායිම් වූ ප්‍රමාණයෙන් පර්චස් නවයයි දශම එකයි හය (අ. 0, රූ. 0, පර්. 9.16) ක විශාලත්වය ඇති ඉඩම සහ එහි පිහිටි ගහකොළ, වැවිලි සහ සෑම සියලු දේද සමග වේ. මෙම ඉඩම ගාල්ල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ වෙළුම්/පත්‍රිරු R 111/82 හි ලියාපදිංචි කර ඇත.

ඉහත කී වටරැක පිහිටි කහටගහවත්ත හෙවත් කැටකැලගහවත්ත හෙවත් රතුගහවත්ත සහ එගොඩවත්ත උඩුමුල්ල හෙවත් උඩුමුල්ලේ කුඹුර බෙදූ ලොට් 01 නැමැති ඉඩමට බලයලත් මිනින්දෝරු කුසුමන් සිරිවර්ධන විසින් මැන සාදන ලද වර්ෂ 2007.04.08 වැනි දිනැති අංක 341/2007 දරන පිඹුරෙහි දක්වෙන ලොට් 13 (අඩි 20ක් පළල) නැමති උතුරින් : මෙම ඉඩමේ ලොට් 05, 04, 03, 02, 01, 14, 12, 11 සහ 34 ද, නැගෙනහිහින් : මෙම ඉඩමේම ලොට් 05, 37, 36, 35 සහ 34 ද, දකුණින් : මෙම ඉඩමේම ලොට් 07 සහ 08, පිඹුරු අංක 429/2006 හි ලොට් 01 සහ ලොට් 09, 22, 21, 20, 19, 18 සහ 06 ද සහ බස්නාහිරින් : හපුගල සිට වටරැකට ඇති ගම් සභා පාර සහ මෙම ඉඩමේම ලොට් 91, 10, 11, 17 ද මායිම් තුළ ප්‍රමාණයෙන් රූඩ් එකයි පර්චස් හතයි දශම හතරයි දෙකයි (අ. 0, රූ. 1, පර්. 7.42) ක් වූ ඉඩම මතින් වන මාර්ග පරවශතාවය ද සමග වේ. මෙම ඉඩම ගාල්ල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ වෙළුම්/පත්‍රිරු R 111/82 හි ලියාපදිංචි කර ඇත.

ඉහත කී වටරැක පිහිටි කහටගහවත්ත හෙවත් කැටකැලගහවත්ත හෙවත් රතුගහවත්ත සහ එගොඩවත්ත උඩුමුල්ල හෙවත් උඩුමුල්ලේ කුඹුර බෙදූ ලොට් 01 නැමැති ඉඩමට බලයලත් මිනින්දෝරු කුසුමන් සිරිවර්ධන විසින් මැන සාදන ලද වර්ෂ 2007.04.08 වැනි දිනැති අංක 341/2007 දරන පිඹුරෙහි දක්වෙන ලොට් 28 (අඩි 20ක් පළල) නැමති උතුරින් : මෙම ඉඩමේ ලොට් 29 සිට 34 ද, නැගෙනහිරින් : එගොඩවත්ත කනත්ත ද, දකුණින් : මෙම ඉඩමේම ලොට් 22 සිට 27 ද සහ බස්නාහිරින් : මාර්ගය සඳහා වෙන් කරන ලද මෙම ඉඩමේ ලොට් 13 ද මායිම් වූ ප්‍රමාණයෙන් පර්චස් දහ නවයයි දශම එක (අ. 0, රූ. 0, පර්. 19.01) ක් වූ ඉඩම මතින් වන මාර්ග පරවශතාවය ද සමග වේ. මෙම ඉඩම ගාල්ල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ වෙළුම්/පත්‍රිරු R 111/83 හි ලියාපදිංචි කර ඇත.

අධ්‍යක්ෂක මණ්ඩලයේ අණ පරිදි,

රජිත කරුණාතිලක,
සහකාර කළමණාකරු- ණය අයකර ගැනීම්.

12 - 1084

**සම්පත් බැංකුව පීඑල්සී**

(සීමාසහිත සම්පත් බැංකුව නමින් කලින් හැඳින්වූ)

2011 අංක. 01 සහ 2011 අංක 19 මගින් සංශෝධිත 1990 අංක 04 දරන බැංකු මගින් ප්‍රදානය කරන ණය අයකරගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 04 වෙනි වගන්තිය යටතේ සම්පත් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් යෝජනා සම්මත කරගන්නා ලද සම්මුතිය

ශිරාන් ගාමන්ට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්.
ගිණුම් අංක : 0117 1000 1288 සහ 0998 1000 0305.

සම්පත් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් වර්ෂ 2017.10.26 වැනි දින පවත්වන්නට යෙදුන රැස්වීමේදී පහත සඳහන් අයුරු විශේෂිතව හා ඒකමතිකව යෝජනා සම්මත කර ගන්නා ලදී.

සමාගම් ලියාපදිංචි අංක පීකිව් 144 දරන පිහිටි සම්පත් බැංකුව පීඑල්සී නමින් කොළඹ ප්‍රසිද්ධ නොතාරිස්වරුන් වන එස්. වී. ඊ. විජේරත්න යන අය විසින් ලියා සහතික කරන ලද 2003 ජනවාරි මස 31 දාතම හා අංක 2513 දරන, කේ. එස්. පී. ඩබ්ලිව්. ජයවීර යන අය විසින් ලියා සහතික කරන ලද 2013 සැප්තැම්බර් මස 03 දාතම හා අංක 6020 දරන සහ 2014 ඔක්තෝබර් 07 දාතම හා අංක 6104 දරන උකස් බැඳුම්කර දෙක මගින් උකස්කොට ඇපකොට මෙහි පළමු උපලේඛනයේ මැනවින් විස්තර කොට ඇති දේපලවල අයිතීන් ඇපයට තබාගෙන ලබාදුන් ණය මුදල ආපසුගෙවීම ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ලියාපදිංචි අංක PVS 5910 දරන සමාගම් නීතිින් යටතේ නිසිලෙස සංස්ථා ගතකොට ඇති සමාගමක් වන ශිරාන් ගාමන්ට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් බන්ධනදායීන් වශයෙන් පැහැර ඇති හෙයින් ද,

එකී අංක 2513, 6020 සහ 6104 දරන බැඳුම්කර ප්‍රකාර අයවියයුතු මුළුමුදල වශයෙන් ශ්‍රී ලංකා මුදලින් රුපියල් අනූ පන් ලක්ෂ තිස් තුන් දහස් දහ අටයි ශත දහ හතක (රු. 9,533,018.17) මුදලක් 2017 සැප්තැම්බර් මස 17 වැනි දිනට එකී සම්පත් බැංකුව පීඑල්සී වෙත ලැබිය යුතුව හා අයවිය යුතුව ඇති හෙයින්ද, එකී රුපියල් අනූ පන් ලක්ෂ තිස් තුන් දහස් දහ අටයි ශත දහ හතක (රු. 9,533,018.17) මුදලද, 2017 සැප්තැම්බර් 18 දින සිට අංක 2513, 6020 සහ 6104 දරන එකී බැඳුම්කර මත අයවියයුතු මුළුමුදල පියවනු ලබන දිනය තෙක්, රුපියල් පන් ලක්ෂ හැට හතර දහස් තුන්සිය අනූ නමයයි ශත පනස් නමයක රු. 564,399/59) මුදලක් සඳහා වාර්ෂිකව at the rate of Average Weighted Prime Lending Rate + Three per centum (3%) per annum (floor rate of 11.5% per annum) හා තවත් රුපියල් හතලිස් පන් ලක්ෂයක (රු. 4,500,000/-) මුදලක් සඳහා වාර්ෂිකව සියයට දහසයක් (16%) හා තවත් රුපියල් හතලිස් එක් ලක්ෂ හැත්තෑ හත් දහස් නමසිය හතලිස් හතයි ශත දහ අටකට සමාන (රු. 4,177,947.18) ඇමෙරිකා එක්සත් ජනපද ඩොලර් විසි හත් දහස් හයසිය අසූ හයයි ශත අසූ හයක (US $ 27,686/86) මුදලක් සඳහා වාර්ෂිකව සියයට හයක් (6%) බැගින් වූ පොලිය ද, දැන්වීම් ගාස්තු ද, දරන්නට සිදුවූ වෙනත් වියදම් ද, තදනන්තරව ලැබී ඇති යම් මුදලක් (වෙතොත්) ඒවා අඩුකොට අයකර ගැනීම සඳහා, අංක 2513, 6020 සහ 6104 දරන එකී බැඳුම්කර මගින් ලබාගන්නා ලද එකී ණය මුදල සඳහා ඇප වශයෙන් එකී සම්පත් බැංකුව පීඑල්සී වෙත උකස් කොට ඇති මෙහි උපලේඛනයේ මැනවින් විස්තර කොට ඇති පරිශ්‍රයන් හා දේපළ, කොළඹ බලයලත් වෙන්දේසි කරුවන් වන පී. කේ. ඊ. සේනාපති ලවා ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණා ලියයුතු යයි, 1990 අංක 04 දරන බැංකු මගින් ප්‍රදානය කරන ණය අයකරගැනීමේ (විශේෂ විධිවිධාන) පනතින් පැවරී ඇති බලතල ප්‍රකාර එකී සම්පත් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් යෝජනා සම්මත කරගන්නා ලදී.

**ඉහත කී උපලේඛනය**

1.බස්නාහිර පළාතේ, කොළඹ දිස්ත්‍රික්කයේ, සල්පිටි කෝරළේ, පල්ලේ පත්තුවේ, තිඹිරිගස්යාය ප්‍රාදේශීය මහ ලේකම් කාර්යාල කොට්ඨාසයේ, කොළඹ නැගෙනහිර පාමන්කඩ ග්‍රාම නිළධාරී කොට්ඨාසයේ, කොළඹ මහ නගර සභා සීමාවන් තුළ පාමංකඩ නැගෙනහිර වෝඩ් 45 කිරුළපන පිහිටි හයිලෙවල් පාර වරිපනම් අංක 100 දරන ''ගොරකගහවත්ත සහ ගොඩපරගහවත්ත'' යයි කියනු ලබන ඉඩමට බලයලත් මානක තැන එච්. එච්. සුබසිංහ යන අය විසින් සාදන ලද 2005 මැයි මස 25 දාතම හා අංක 2235 දරන පිඹුරේ නිරූපිත සීමා නිර්ණය කොට බෙදාවෙන්කොට ලොට් 1 වශයෙන් ලකුණු කොට ඇති ඉඩම් කොටසට මායිම් : උතුරට : හයිලෙවල් පාර නැගෙනහිරට : හයිලෙවල් පාර දැන් වරිපනම් අංක 104 දරන පරිශ්‍රයන් දකුණට : කිරුළපන පිඹුරු අංක 4 හි ලියාපදිංචි කොට ඇති ලොට් 2398, 806 සහ 805 සහ රොබට් ගුණවර්ධන මාවත වරිපනම් අංක 6 (කොටසක්) දරන පරිශ්‍රයන් සහ බස්නාහිරට : හයිලෙවල් පාර වරිපනම් අංක 96 දරන පරිශ්‍රයන් යන මායිම් තුළ පිහිටි ප්‍රමාණයෙන් පර්චස් දහසයයි දශම එකයි හයක් (A:0 R:0 P:16.16) විශාල ඉඩම් කොටස සමග පස, ගහකොළ, වගාවන්, සහ එහි පිහිටි සෑම සියළු දේ සමග හිමිකම් ඔප්පු E 2කාණ්ඩ 1/26 (2 කාණ්ඩ 5/37) යටතේ කොළඹ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ ලියාපදිංචි කොට ඇත.

එකී කිරුළපන පිහිටි වරිපනම් අංක 100 (කොටසක්) දරන ''ගොරකගහඹිවිට සහ ගොඩපරගහඹිවිට'' යයි කියනු ලබන ඉඩමට බලයලත් මානක තැන එච්. එච්. සුබසිංහ යන අය විසින් සාදන ලද 2005 මැයි 27 දාතම හා අංක. 2237 දරන පිඹුරේ නිරූපිත සීමා නිර්ණය කොට බෙදාවෙන්කොට ලොට් 8897 වශයෙන් ලකුණු කොට ඇති ඉඩම් කොටසට මායිම් : උතුරට : හයිලෙවල් පාර වරිපනම් අංක. 100 (කොටසක්) දරන පරිශ්‍රයේ ඉතිරි කොටස නැගෙනහිරට : රොබට් ගුණවර්ධන මාවත වරිපනම් අංක 12 දරන D සහ DI පරිශ්‍රයන්, ලොට් 2398, 2397 දකුණට : ලොට් 807, පාර සහ බස්නාහිරට : ලොට් 805, රොබට් ගුණවර්ධන මාවත වරිපනම් අංක 12/14 දරන පරිශ්‍රයන් යන මායිම් තුල පිහිටි ප්‍රමාණයෙන් පර්චස් දොළහයි දශම තුනයි එකක් (A:0 R:0 P:12.31) විශාල ඉඩම් කොටස සමග පස, ගහකොළ, වගාවන්, සහ එහි පිහිටි සෑම සියළු දේ සමග වෙළුම/පත්‍රිරුව SPE 27/91, 92 (Kiri 180/129, 130) යටතේ කොළඹ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ ලියාපදිංචි කොට ඇත.

පහත සඳහන් දැ දිගේ හා ඒ මතින් ගමන් කිරීමේ හා මාර්ග අයිතිය ද සමගය :

එකී කිරුළපන පරණ කොරි පාරේ පිහිටි ''ගොරකගහඹවිට සහ ගොඩපරගහඹිවිට'' යයි කියනු ලබන ඉඩමට අංක 727 දරන එකී මිනුම් පිඹුරේ නිරූපිත සීමා නිර්ණය කොට බෙදාවෙන්කොට ලොට් 807 (අඩි 20 පළල පාර සඳහා වෙන්කිරීම) වශයෙන් ලකුණු කොට ඇති ඉඩම් කොටසට මායිම් : උතුරට : ලොට් 804, 805, 806 සහ සහ D1, නැගෙනහිරට : පරණ කොරි පාර සහ ලොට් 808 සහ 811 දකුණට : ලොට් 428 A, 808 සහ 812 සහ බස්නාහිරට : ලොට් 803, 809 සහ 810 යන මායිම් තුළ පිහිටි ප්‍රමාණයෙන් පර්චස් විසි හතරයි දශම නමයයි තුනක් (A:0 R:0 P:24.93) විශාල ඉඩම් කොටස සමග වෙළුම/පත්‍ර්‍රුව Kiri 149/84 යටතේ කොළඹ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ ලියාපදිංචි කොට ඇත.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණපරිදි,

සමාගම් ලේකම්.

12 - 1086

---

### ලංකා බැංකුව

### 1968 අංක 34 දරන පනතින් හා 1974 අංක 10 දරන නීතියෙන් සංශෝධනය කරන ලද ලංකා බැංකු ආඥපනතේ (397 අධිකාරය) 21 වැනි වගන්තිය යටතේ කරනු ලබන දැනුම්දීම

2017 අප්‍රේල් මස 05 වැනි දින පවත්වන ලද රැස්වීමක දී මෙම බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලය විසින් විශේෂයෙන්ම හා ඒකමතිකව පහත සඳහන් පරිදි යෝජනා සම්මත කර ගන්නා ලදී.

1. ප්‍රසිද්ධ නොතාරිස් එල්.එස්. අතාවුද මහතා විසින් සහතික කරන ලද 2011.08.22 දිනැති අංක 7453 දරන උකස් බැඳුම්කරය සහ ප්‍රසිද්ධ නොතාරිස් එම්.දිලක්ෂි ලුවිස් මිය සහතික කරන ලද 2013.07.05 වැනි දිනැති අංක 60 දරන අතිරේක උකස් බැඳුම්කරය අනුව 1 වන ණය මුදල මත 2016.11.17 වැනි දින තෙක් මුල් මුදල හා පොළිය වශයෙන් රුපියල් දෙකෝටි විසිදෙලක්ෂ හාරදහස් හත්සිය හැත්තෑ පහයි ශත එක (රු. 22,204,775.01) මුදල සමග රුපියල් එක්කෝටි තිස්පන් ලක්ෂ හැටදහ (රු. 13,560,000.00) මුදල මත වසරකට සියයට දහසය (16.0%) බැගින් 2016.11.18 දින සිට ගෙවීම නිම කරන දිනය තෙක් පොළියක් ද 2 වන ණය මත 2016.11.17 වැනි දින දක්වා මුල් මුදල හා පොළිය වශයෙන් රුපියල් හැටඑක් ලක්ෂ තිස්දහස් හයසිය විසිදෙකයි ශත තිස්හතර (රු.6,130,622.34) ක මුදල සමග රුපියල් පනස්එක් ලක්ෂ විසිදහස් පන්සිය දහහතයි ශත විසිපහ (රු. 5,120,517.25) මුදල මත වසරකට සියයට පහ (5.0%) බැගින් 2016.11.18 දින සිට ගෙවීම නිම කරන දිනය තෙක් පොළියද 3 වන ණය මුදල මත 2016.11.17 වැනි දින දක්වා මුල් මුදල හා පොළිය වශයෙන් රුපියල් පනස් දෙලක්ෂ හතලිස් දෙදහස් පන්සිය හැත්තෑ එකයි ශත හැත්තෑ හය (රු. 5,242,571.76) මුදල සමග රුපියල් ලක්ෂ හතලිහ (රු. 4,000,000.00) ක මුදල මත වසරකට සියයට නවය (9%) බැගින් 2016.11.18 වැනි දින සිට ගෙවීම නිම කරන දිනය තෙක් තවදුරටත් පොළියද කන්තලේ, රජ ඇල, අංක 694/4 හි චම්පිකා රයිස් මිල්ස් හි අයිතිකරුවන් වන කන්තලේ, රජ ඇල, අංක 694/4 හි පදිංචි ඉහත හවුල්කරුවන් වෙතින් අයවිය යුතුව ඇත.

2. ප්‍රසිද්ධ නොතාරිස් එල්.එස්. අතාවුද මහතා විසින් සහතික කරන ලද 2011.08.22 දිනැති අංක 7453 දරන උකස් බැඳුම්කරය සහ ප්‍රසිද්ධ නොතාරිස් එම්.දිලක්ෂි ලුවිස් මිය සහතික කරන ලද 2013.07.05 වැනි දිනැති අංක 60 දරන අතිරේක උකස් බැඳුම්කරය අනුව 1 වන ණය මුදල මත අයවිය යුතු රුපියල් දෙකෝටි විසිදෙලක්ෂ හාරදහස් හත්සිය හැත්තෑ පහයි ශත එකක (රු. 22,204,775.01) මුදල ද මත 2 වන ණය මත අයවිය යුතු රුපියල් හැටඑක් ලක්ෂ තිස්දහස් හයසිය විසිදෙකයි ශත තිස්හතර (රු.6,130,622.34) ක මුදල ද 3 වන ණය මුදල මත අයවිය යුතු රුපියල් පනස් දෙලක්ෂ හතලිස් දෙදහස් පන්සිය හැත්තෑ එකයි ශත හැත්තෑ හයක (රු. 5,242,571.76) මුදල සමඟ 2016.11.18 වැනි දින සිට විකිණීමේ දිනය තෙක් ඉහත කී ආකාරයට අයවිය යුතු පොළිය ද, ලංකා බැංකු ආඥා පනතේ 26 වැනි වගන්තිය යටතේ අයකර ගත හැකි ගාස්තු හා මුදල්ද අයකර ගැනීම පිණිස ලංකා බැංකුව වෙත උකස් කරනු ලැබ මෙහි පහත විස්තර කොට ඇති දේපළ ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීමට කොළඹ 05, හැව්ලොක් පාරේ, අංක 290 හි වෙන්දේසිකාර ෂොක්මන සහ සමරවික්‍රම සමාගම එකී ලංකා බැංකු ආඥපනතේ (397 අධිකාරය) හා එහි සංශෝධනවල 19 වන වගන්තිය යටතේද, ලංකා බැංකු ආඥා පනතේ 21 වන වගන්තිය යටතේ මෙම යෝජනාවේ දැන්වීම පළ කිරීමට ලංකා බැංකුවේ, කන්තලේ ශාඛාවේ ශාඛා කළමනාකරු හට මෙයින් අවසර දී බලය පවරනු ලැබේ.

#### පළමු උපලේඛනය

නැගෙනහිර පළාතේ, ත්‍රිකුණාමල දිස්ත්‍රික්කයේ, කන්තලේ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ අංක 227/B දරන රජ ඇල ග්‍රාම සේවක නිලධාරි කොට්ඨාසයේ රජ ඇල ග්‍රාමයේ (කට්ටලෙයි පත්තුව) පිහිටි රජ ඇල කොලනි නැමති ඉඩමෙහි ලොට් 780 හි නැගෙනහිර පස බෙදූ ඉඩම් කැබැල්ල එනම් ලොට් 780 උතුරට : ලොට් 741 ද, නැගෙනහිරට : ලොට් 780 ද, දකුණට : ලොට් 781 ද, බස්නාහිරට : ලොට් 782 ද මායිම්ව එහි ඇති නිවෙස සහ වී මෝල සහිතව අක්කර එකයි පර්චස් විසිතුනයි දශම බිංදුවයි හයක (අ. 23, රූ. 0, පර්. 23.06) බිම් ප්‍රමාණයකින් යුක්ත වන අතර මෙය ඉඩම් සංවර්ධන ආඥා පනත යටතේ ත්‍රිකුණාමල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ LDO/P/3/54 සහ 55 හි ලියාපදිංචි කර ඇත.

එකී ඉඩම් කැබැල්ල බලයලත් මිනින්දෝරු කේ. සෙල්ලපිල්ලෙ විසින් මෑතකදී සාදන ලද 1997 සැප්තැම්බර් මස 19 වැනි දිනැති අංක 553 දරන මිනුම් පිඹුරට අනුව පහත ආකාරයට විස්තර කර ඇත.

නැගෙනහිර පළාතේ, ත්‍රිකුණාමල දිස්ත්‍රික්කයේ, කන්තලේ ප්‍රාදේශීය සභා සීමාවේ , කන්තලේ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ අංක 227/B දරන රජ ඇල ග්‍රාම සේවක නිලධාරි කොට්ඨාසයේ කන්තලේ රජ ඇල කොට්ඨාස අංක 4 හි පිහිටි රජ ඇල, රජ ඇල කොලනි ඒකක 4/694 නැමති ඉඩමෙහි අංක 553 දරන පිඹුරෙහි ලොට් 1 ලෙස දක්වා නිරූපණය කර ඇති බෙදූ ඉඩම් කැබැල්ල එනම් එකී ලොට් 1 උතුරට : පාර ද, නැගෙනහිරට : පාර ද, දකුණට : එකී අංක 553 දරන පිඹුරෙහි නිරූපිත ලොට් 2 ද,

බස්නාහිරට : F.T.P.2 හි ලොට් 782 ද මායිම්ව එහි ඇති නිවෙස සහ වී මෝලකින් සමන්විත වන අතර එකී අංක 553 දරන පිඹුරට අනුව අක්කර එකයි පර්චස් විසි තුනයි දශම බිංදුවයි හයක (අ. 1, රූ. 0, පර්. 23.06) බිම් ප්‍රමාණයකින් යුත්ත වේ.

දෙවන උපලේඛනය

ඉහත දෙවන උපලේඛනයේ විස්තර කළ ඉඩමට හා පරිශ්‍රයට සවිකර ඇති සියලු යන්ත්‍රාසාර සහ යන්ත්‍රෝපකරණ වලට පහත සඳහන් දෑ අයත් වේ.

Description of Machinery (යන්ත්‍රෝපකරණ වල විස්තරය)

1. Two 18 feet Elevators with 2 H.P. motors
2. Paddy cleaner with 3 H.P. motors
3. Two paddy stoners within 2 H.P. motors
4. Two Hullers with 10 H.P. motors
5. Two 12 feet Elevators with 2 H.P. motors
6. Automatic elevator and Huller with 10 H.P. motors
7. Separator with 15 H.P. motors
8. Polisher with motor
9. Two Rice Stoner with 2 H.P. motors
10. 17 feet Elevators with 2 H.P. motor
11. Winnower with 2 HP motor
12. Winnower with 2 HP motor
13. Paddy driver with 30 HP motor
14. Paddy cleaner with 3 HP motor
15. Huller with 25 HP motors
16. Two 12 feet Elevators with 2 HP motor
17. Two Winnower fans with 2 HP motor
18. Polisher with 25 HP motor and starter
19. Rice Stoner with 3 HP motor and starter
20. 18 feet Elevator with 2 HP motor and starter
21. 12x4x4x feet Rice Bin
22. Grader with motor and starter
23. 110KVA Generator
24. Boiler
25. Blower
26. Suction Fan

සහ සෑම ආකාරයකම මෙන්ම දැනට කුමන ආකාරයකට හෝ විස්තර කර ඇති සහ මින් පසුවට මෙම පළමු උපලේඛනයේ විස්තර කර ඇති පරිශ්‍රයට සවි කිරීමට නියමිත වෙනත් සියලු දේ ද වේ.

ලංකා බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

යූ.ඒ.එස්. ජයසීලි මිය,
ශාඛා කළමනාකරු.

ලංකා බැංකුව,
කන්තලේ.

12 - 1104

## ලංකා බැංකුව

### 1968 අංක 34 දරන පනතින් හා 1974 අංක 10 දරන නීතියෙන් සංශෝධනය කරන ලද ලංකා බැංකු ආඥාපනතේ (397 අධිකාරය) 21 වැනි වගන්තිය යටතේ කරනු ලබන දැනුම්දීම

2017.10.11 වැනි දින පවත්වන ලද රැස්වීමක දී මෙම බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලය විසින් විශේෂයෙන්ම හා ඒකමතිකව පහත සඳහන් පරිදි යෝජනා සම්මත කර ගන්නා ලදී.

1. ප්‍රසිද්ධ නොතාරිස් එස්. රණසිංහ විසින් සහතික කරන ලද 2015.10.12 වැනි දිනැති අංක 696 දරන උකස් බැඳුම්කරය ද, ප්‍රසිද්ධ නොතාරිස් එස්.ඒ.ඩී.පී.ආර්. ගුණවර්ධන විසින් සහතික කරන ලද 2016.05.18 වැනි දිනැති අංක 1354 දරන උකස් බැඳුම්කරය සහ ප්‍රසිද්ධ නොතාරිස් වාගා ලාවන්යා යාපා විසින් සහතික කරන ලද 2017.01.25 වැනි දිනැති අංක 1200 දරන උකස් බැඳුම්කර අනුව 2017.09.13 වැනි දින තෙක් අයිරා පහසුකම් මත මුල් මුදල හා පොළිය වශයෙන් රුපියල් දෙකෝටි එක්ලක්ෂ හය දහස් අටසිය හතලිස් නවයයි ශත තිස්එක (රු. 20,106,849.31) මුදල සමග රුපියල් දෙකෝටිය (රු. 20,000,000.00) මුදල මත වසරකට සියයට පහළොව (15%) බැගින් පොළිය ද 2017.09.13 වැනි දින තෙක් මුල් මුදල හා පොළිය වශයෙන් රුපියල් තුන්කෝටි පනස් එක් ලක්ෂ අසූහය දහස් නවසිය අසූහයයි ශත තිහක (රු. 35,186,986.30) මුදල සමග රුපියල් තුන්කෝටි පනස් ලක්ෂය (රු. 35,000,000.00) ක මුදල මත වසරකට සියයට පහළොව (15%) බැගින් තවදුරටත් පොළිය ද, 2017.09.13 වැනි දින තෙක් ණය මාලාව මත මුල් මුදල සහ පොළිය වශයෙන් රුපියල් පනස් ලක්ෂ විසිහය දහස් හත්සිය දෙළහයි ශත තිස්තුන (රු. 5,026,712.33) ක මුදල සමග රුපියල් ලක්ෂ පනහ (රු. 5,000,000.00) මුදල මත වසරකට සියයට පහළොව (15%) බැගින් පොළියක් 2017.09.13 වැනි දින තෙක් කාලීන ණය මත රුපියල් දෙකෝටි හය ලක්ස තිස් හත් දහස් එකසිය අසූතුනයි ශත තිස්හයක (රු. 20,637,183.36) මුදල සමග රුපියල් කෝටි දෙකක (රු. 20,000,000.00) මුදල මත තව දුරටත් සියයට පහළොව (15%) බැගින් 2017.09.14 වැනි දින සිට ගෙවීම නිම කරන දිනය තෙක් පොලිය ද දෙහිවල, මල්වත්ත පාරේ, අංක 11 හි, දැනට පදිංචි දෙහිවල, ගාළු පාරේ, අංක 173 හි පදිංචි ඊබර්ට් සිල්වා ඔටෝමොබයිල් ඉංජිනියරින් කොම්පැනි (පුද්ගලික) සමාගම (දෙහිවල, හිල් වීදියේ, අංක 23 හි පදිංචි සුධර්මා කාන්ති ද සිල්වා මිය අගම්පොඩි රාජින්ද ඊබර්ට් ද සිල්වා අධ්‍යක්ෂවරු වෙති) වෙතින් අයවිය යුතුව ඇත.

2. 2015.10.12 වැනි දිනැති අංක 696 දරන උකස් බැඳුම්කරය, 2016.05.18 වැනි දිනැති අංක 1354 දරන උකස් බැඳුම්කරය සහ 2017.01.25 වැනි දිනැති අංක 1200 දරන උකස් බැඳුම්කර අනුව අයිරාව මත රුපියල් දෙකෝටි එක්ලක්ෂ හය දහස් අටසිය හතලිස් නවයයි ශත තිස්එක (රු. 20,106,849.31) ක සහ රුපියල් තුන්කෝටි පනස් එක් ලක්ෂ අසූහය දහස් නවසිය අසූහයයි ශත තිහ (රු. 35,186,986.30) ක මුදල සමග රුපියල් පනස් ලක්ෂ විසිහය දහස් හත්සිය දෙළහයි ශත තිස්තුන (රු. 5,026,712.33) ක මුදල සමග කාලීන ණය මත රුපියල් දෙකෝටි හයලක්ෂ තිස්හත් දහස් එකසිය අසූතුනයි හත තිස්හය (රු. 20,637,183.36) ක මුදලක්

2017.09.14 වැනි දින සිට විකිණීමේ දිනය තෙක් ඉහත කී ආකාරයට අයවිය යුතු පොළිය ද, ලංකා බැංකු ආඥපනතේ 26 වෙනි වගන්තිය යටතේ අයකර ගත හැකි ගාස්තු හා මුදල් ද අයකර ගැනීම පිණිස ලංකා බැංකුව වෙත උකස් කරනු ලැබ මෙහි පහත විස්තර කොට ඇති දේපළ ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීමට කොලොන්නාව, විහාර මාවතේ අංක 50/3 හි ටී. ඇන්ඩ් එච් කරුණාරත්න මහතා හට එකී ලංකා බැංකු ආඥපනතේ (397 අධිකාරය) හා එහි සංශෝධනවල 19 වැනි වගන්තිය යටතේ ද, ලංකා බැංකු ආඥපනතේ 21 වන වගන්තිය යටතේ මෙම යෝජනාවේ දැන්වීම් පළ කිරීමට ලංකා බැංකුවේ, දෙහිවල අධිශ්‍රේණි ශාඛාවේ ප්‍රධාන කළමනාකරු හට මෙයින් අවසර දී බලය පවරනු ලැබේ.

### උපලේඛනය

බස්නාහිර පළාතේ, කොළඹ දිස්ත්‍රික්කයේ, සල්පිටි කෝරළේ, පල්ලේ පත්තුවේ, දෙහිවල-ගල්කිස්ස ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, දෙහිවල ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ, දෙහිවල ගල්කිස්ස මහ නගර සභා සීමාවේ දෙහිවල අංක 19 කොටසෙහි දෙහිවල පිහිටි මල්වත්ත පාරේ, අංක 11A වරිපනම් අංකය දරන මල්වත්ත මහවත්ත සහ කැලණි ඕවිට නැමති ඉඩමේ බලයලත් මිනින්දෝරු එස්.ජේ. ජයවික්‍රම විසින් සාදන ලද 2009 මැයි 18 වැනි දිනැති අංක 2763 දරන පිඹුරෙහි ලොට් 5412 ලෙස දක්වා සීමා විස්තර කොට නිරූපණය කර ඇති බෙදූ ඉඩම් කැබැල්ල එනම් එකී ලොට් 5412 උතුරට : ලොට් 1, 1331, 1332 සහ 1330 ද, නැගෙනහිරට : ලොට් 5413 ද, දකුණට : මල්වත්ත පාර ද, බස්නාහිරට : ලොට් 1 සහ ලොට් 257 B ද මායිම්ව එකී අංක 2763 දරන පිඹුරට අනුව රූඩ් දෙකයි පර්චස් හතයි දශම හයයි පහක (අ . 0, රූ. 2, පර්. 7.65) බිම් ප්‍රමාණයකින් යුක්ත වන අතර එහි ඇති හා වැඩෙන ගහකොළ සහ ගොඩනැගිලි වලින් යුක්ත වේ. මෙය දෙල්කඳ නුගේගොඩ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ Dehi 120/80, 81 හි ලියාපදිංචි කර ඇත.

ලංකා බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

එස්.පී.ඒ. අබේවික්‍රම මහතා,
ප්‍රධාන කළමනාකරු.

ලංකා බැංකුව,
දෙහිවල අධිශ්‍රේණි ශාඛාව.

12 - 1105

ශ්‍රී ලංකා රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ මුද්‍රණය කරන ලදී.

# ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රය

අංක 2,052 - 2017 දෙසැම්බර් මස 29 වැනි සිකුරාදා - 2017.12.29

(රජයේ බලයපිට ප්‍රසිද්ධ කරන ලදී)

## I වැනි කොටස : (IIඅ) වැනි ඡෙදය - පළකිරීම්

(වෙන වෙනම ගොනු කර ගත හැකි පරිදි සෑම කොටසකට ම අයත් එක් එක් භාෂාවකට වෙන වෙනම පිටු අංක යොදා ඇත)



**සතිපතා නිකුත් වන ගැසට් පත්‍රයෙහි පළකිරීම සඳහා භාරගනු ලබන දැන්වීම් පිළිබඳ**

**වැදගත් නිවේදනයයි**

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ *ගැසට් පත්‍රයේ* අවසන් පිටුවේ සෑම මාසයක ම මුල් සතියේ දී පළ කරන නිවේදන භාරගන්නා දිනයන් සහ වේලාවන් පිළිබඳව මින් අවධානය යොමු කරනු ලැබේ.

*ගැසට් පත්‍රයේ* පළ කිරීම සඳහා දැන්වීම් භාරගැනීම *ගැසට් පත්‍රය* පළකරනු ලබන දිනයට සති දෙකකට පෙර සිකුරාදා දිනයෙහි දහවල් 12.00 ට අවසන් කරනු ලැබේ. තනතුරු - ඇබෑර්තු, විභාග, ටෙන්ඩර් සහ වෙන්දේසි පිළිබඳ දැන්වීම්වල අවසන් දින සහ වේලාවන් ඒ පිළිබඳව උනන්දුවක් දක්වන අයට ප්‍රමාණවත් කාල වේලාවක් ලැබෙන පරිදි යොදාගත යුතු බවට, සියලු ම දෙපාර්තමේන්තු, සංස්ථා සහ මණ්ඩල යනාදිය වගබලාගත යුතු බව මින් අවධාරණය කෙරේ. පළකිරීම සඳහා එවනු ලබන සෑම දැන්වීමක් ම තනි පැත්තේ පමණක් පැහැදිලිව පිටපත් කළ යුතු ය. **නිරවද්‍යතාවය පිළිබඳව කරන විමසීම් සහ පැමිණිලි ගැසට් පත්‍රය පළ වූ දින සිට තෙමසකට පසුව භාරගනු නොලැබේ.**

ගැසට් පත්‍රයේ පළ කරන සෑම දැන්වීමක් ම ගැසට් පත්‍රය පළ කරනු ලබන දිනට සති දෙකකට පෙර එනම්, 2018 ජනවාරි මස 19 වැනි දින පළකරන *ගැසට් පත්‍රයේ* දැන්වීම් 2018 ජනවාරි මස 05 වැනි දින දහවල් 12.00ට හෝ ඊට පෙර තැපෑලෙන් හෝ ගෙනවිත් රජයේ මුද්‍රණාලයට භාරදිය යුතු ය.

**2006 අංක 19 දරන ඉලෙක්ට්‍රොනික ගනුදෙනු පනත - 9 වැනි වගන්තිය**

*"යම් ප්‍රකාශනයක්, රීතියක්, නියෝගයක්, නියමයක්, අතුරු ව්‍යවස්ථාවක්, නිවේදනයක් හෝ වෙනත් කිසිවක් ගැසට් පත්‍රයේ පළ කළ යුතු බවට යම් පනතකින් හෝ නීති ප්‍රඥප්තියකින් විධිවිධාන සලස්වා ඇති අවස්ථාවක, ඒ රීතිය, නියෝගය, නියමය, අතුරු ව්‍යවස්ථාව, නිවේදනය හෝ වෙනත් දෙය ඉලෙක්ට්‍රොනික ස්වරූපයේ වන ගැසට් පත්‍රයක පළ කරනු ලැබුවහොත් ඒ විධිවිධානය සම්පූර්ණ කර ඇත්තාක් සේ සැලකිය යුතු ය."*

**ගංගානි ලියනගේ,**
රජයේ මුද්‍රණාලයාධිපති (*වැ. බ.*)

2017 ජනවාරි මස 01 වැනි දින,
කොළඹ 08,
රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ දී ය.

මෙම ගැසට් පත්‍රය *www. documents.gov.lk* වෙබ් අඩවියෙන් බාගත කළ හැක.

ඉඩම් කොමසාරිස් ජනරාල්ගේ අංකය : 4/10/50123.
පළාත් ඉඩම් කොමසාරිස්ගේ අංකය : ප. ඉ. කො./6/1/කළු/කළු/06.

**21(2) දරන රජයේ ඉඩම් රෙගුලාසිය යටතේ කෙරෙන නිවේදනය**

කළුතර දිස්ත්‍රික්කයේ, කළුතර ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයට අයත් අංක 730 ඒ, කලපුව ග්‍රාම නිලධාරි වසමේ කටුකුරුන්ද ගමේ මු. පි. ක 2414 දරන අනුරේඛනයේ කැබලි අංක 5, 6, 7, 8, 11 සහ 12 වශයෙන් දැක්වෙන ප්‍රමාණයෙන් හෙක්ටයාර් 0.1109ක් පමණ වූ රජයේ ඉඩම් කැබැල්ලක් වාණිජ කටයුතු සඳහා ආ ප්‍රිමා ටුවරිස්ට් හොටෙල් වෙත බදු ඉල්ලා ඇති බව මෙයින් නිවේදනය කෙරේ.

02. ඉල්ලා ඇති ඉඩමෙහි මායිම් මෙහි පහත සඳහන් වේ : -

*කැබලි අංක 5*
*උතුරට* : මෙම පිඹුරේ කැබලි අංක 06 සහ 03 ;
*නැගෙනහිරට* : මෙම පිඹුරේ කැබලි අංක 04 (මාර්ගය), 16 හා 03 ;
*දකුණට* : මෙම පිඹුරේ කැබලි අංක 14 සහ 10(මාර්ගය) ;
*බටහිරට* : මෙම පිඹුරේ කැබලි අංක 06 සහ 10 (මාර්ගය).

*කැබලි අංක 6*
*උතුරට* : මෝදරවත්ත (හි. පි. 178686) සහ මෙම පිඹුරේ කැබලි අංක 03 ;
*නැගෙනහිරට* : මෙම පිඹුරේ කැබලි අංක 03 සහ 05 ;
*දකුණට* : මෙම පිඹුරේ කැබලි අංක 05 සහ 10 (මාර්ගය);
*බටහිරට* : මෙම පිඹුරේ කැබලි අංක 07 සහ මෝදරවත්ත (හි. පි. 178686 සහ 178687).

*කැබලි අංක 7*
*උතුරට* : උතුරට මෝදරවත්ත (හි. පි. 178687) සහ මෙම පිඹුරේ කැබලි අංක 06 ;
*නැගෙනහිරට* : මෙම පිඹුරේ කැබලි අංක 05 සහ 10 (මාර්ගය) ;
*දකුණට* : මෙම පිඹුරේ කැබලි අංක 10 (මාර්ගය) සහ 08 ;
*බටහිරට* : මෙම පිඹුරේ කැබලි අංක 08.

*කැබලි අංක 8*
*උතුරට* : උතුරට මෝදරවත්ත (හි. පි. 178687) සහ මෙම පිඹුරේ කැබලි අංක 07 ;
*නැගෙනහිරට* : මෙම පිඹුරේ කැබලි අංක 07 සහ 10 (මාර්ගය) ;
*දකුණට* : මෙම පිඹුරේ කැබලි අංක 09 (මුහුදු වෙරළ සඳහා රක්ෂිත බිම) සහ 10 (මාර්ගය) ;
*බටහිරට* : මෙම පිඹුරේ කැබලි අංක 09 (මුහුදු වෙරළ සඳහා රක්ෂිත බිම).

*කැබලි අංක 11*
*උතුරට* : මෙම පිඹුරේ කැබලි අංක 10 (මාර්ගය) ;
*නැගෙනහිරට* : මෙම පිඹුරේ කැබලි අංක 10 (මාර්ගය) සහ 12 ;
*දකුණට* : මෙම පිඹුරේ කැබලි අංක 12 සහ 09 (මුහුදු වෙරළ සඳහා රක්ෂිත බිම) ;
*බටහිරට* : මෙම පිඹුරේ කැබලි අංක 09 (මුහුදු වෙරළ සඳහා රක්ෂිත බිම) සහ 10 (මාර්ගය).

*කැබලි අංක 12*
*උතුරට* : මෙම පිඹුරේ කැබලි අංක 11 සහ 10 (මාර්ගය);
*නැගෙනහිරට* : මෙම පිඹුරේ කැබලි අංක 10 (මාර්ගය) සහ 19 (මාර්ගය) ;
*දකුණට* : මෙම පිඹුරේ කැබලි අංක 19 (මාර්ගය) ;
*බටහිරට* : මෙම පිඹුරේ කැබලි අංක 09 (මුහුදු වෙරළ සඳහා රක්ෂිත බිම) සහ 11 .

03. ඉල්ලා ඇති ඉඩම අවශ්‍ය කාරණය සඳහා බදු දීමට පුළුවන. එබැවින් රජයේ සම්මත සෙසු කොන්දේසිවලට හා පහත සඳහන් කොන්දේසිවලට යටත් කොට ඉඩම බදු දීමට රජය අදහස් කොට තිබේ :-

(අ) *බදු කාලය* .- අවුරුදු තිහයි (30), (ගරු ඇමතිතුමා බදු අනුමත කළ 2017.06.21 දින සිට ඉදිරියට);

*වාර්ෂික බදු මුදල* .- ගරු ඇමතිතුමා බදු අනුමත කළ වර්ෂයේ ඉඩමේ තක්සේරු වටිනාකම රුපියල් මිලියන පහකට (රු. 5,000,000) වඩා අඩුවන අවස්ථාවලදී ප්‍රධාන තක්සේරුකරුගේ තක්සේරුව මත එම වර්ෂයේ ඉඩමේ වෙළඳපොල වටිනාකමින් 2%කි. ගරු ඇමතිතුමා අනුමත කළ වර්ෂයේ ඉඩමේ තක්සේරු වටිනාකම රුපියල් මිලියන පහකට (රු. 5,000,000) ට වැඩිවන අවස්ථාවලදී ප්‍රධාන තක්සේරුකරුගේ තක්සේරුව මත එම වර්ෂයේ ඉඩමේ වෙළඳපොල වටිනාකමින් 4% කි. මෙම බදු මුදල සෑම අවුරුදු 05කට වරක්ම සංශෝධනය විය යුතු අතර, එය කලින් අවුරුදු 05 අවසානයේ අයකළ වාර්ෂික බදු මුදලට 20% ක් එකතු විය යුතු ය.

*වාර මුදල*.- වාර මුදලක් අය නොකෙරේ ;

(ආ) බදු ගන්නන් විසින් මෙකී ඉඩම වාණිජ කටයුතු සඳහා හැර වෙනත් කටයුත්තක් සඳහා නොයෙදවිය යුතු ය;

(ඇ) බදු ගන්නන් විසින් බද්ද ඇරඹුණු දින සිට අවුරුදු 01ක් ඇතුළත දී ප්‍රාදේශීය ලේකම්ගේ සිත් ගන්නා පරිදි මෙකී ඉඩම සංවර්ධනය කළ යුතු ය;

(ඈ) ප්‍රාදේශීය ලේකම් සහ අනෙකුත් ආයතන විසින් පනවා ඇති අනෙක් විශේෂ කොන්දේසිවලට ද මෙම බද්ද යටත් විය යුතු ය;

*(ඉ)* සාදා ඇති/සාදන ලද ගොඩනැගිලි මනා සංවර්ධන තත්ත්වයකින් පවත්වාගෙන යා යුතු ය;

*(ඊ)* ඉඩම බදු දී ඇති කල්හි බදුකරු විසින් ඉඩම ලබාගත් කරුණ සාක්ෂාත් කර ගැනීමට නියමිත කාල සීමාව තුළ අසමත් වූ විටක බද්ද අවසන් කිරීම සඳහා ක්‍රියා කරනු ලැබේ;

*(උ)* 2017.06.21 වැනි දින සිට වසර 05ක අවම කාලයක් ඉක්මවීමට පෙර අතුරු බදු දීම් හෝ පැවරීම් සඳහා අවසර දෙනු නොලැබේ ;

*(ඌ)* බදු කුළිය නොකඩවා ගෙවිය යුතු අතර බදු පැහැර හැරීම් කළ අවස්ථාවන්හි දී ගිවිසුම ඉබේටම අහෝසි වනු ඇත.

මෙම නිවේදනය පළ වූ දින සිට සති 06ක් ඇතුළත දී අදාළ ඉඩම බදු නොදිය යුතු බවට පිළිගැනෙන හේතූන් ලියා මා වෙත ඉදිරිපත් නොකළහොත් ඉල්ලීම අනුව බද්ද දෙනු ලැබේ.

ඩී. ටී. එම්. ජයතිලක,
සහකාර ඉඩම් කොමසාරිස්,
ඉඩම් කොමසාරිස් ජනරාල් *වෙනුවට.*

2017 නොවැම්බර් මස 29 වැනි දින,
බත්තරමුල්ල, රජමල්වත්ත පාර, ''මිහිකත මැදුර'',
ඉඩම් මහලේකම් කාර්යාලයේ, අංක 1200/6 හි,
ඉඩම් කොමසාරිස් ජනරාල් දෙපාර්තමේන්තුවේ දී ය.

12-819

ශ්‍රී ලංකා රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ මුද්‍රණය කරන ලදී.